# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා - ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති - අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ - අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ - අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

**ආනන්ද සමරකෝන්**

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළ පොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමගම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී.එන්. අයිලප්පෙරුම — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි — අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

පුණ්‍ය කුමාරි ප්‍රියංගිකා — සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය**

1. ඒ. ඩී. නන්දසේන — අධ්‍යාපන අධ්‍යක්ෂ (තාක්ෂණ)
   අධ්‍යාපන අමාත්‍යාංශය

2. මහාචාර්ය ඒ. එම්. තමරා පී. අතාවුද — කෘෂි ව්‍යාපාර කළමනාකරණ
   අධ්‍යයන අංශය
   වයඹ විශ්වවිද්‍යාලය

3. කේ. එම්. ජී. එන්. ටී. ඩයස් — කථිකාචාර්ය
   තාක්ෂණ අධ්‍යාපන දෙපාර්තමේන්තුව
   ජාතික අධ්‍යාපන ආයතනය

4. ආර්. ෆ්‍රැන්සිස්කෝ — ව්‍යාපෘති නිලධාරී (විශ්‍රාමික)
   ජාතික අධ්‍යාපන ආයතනය

5. එස්. ගිරිදරන් — ගුරුසේවය
   බප / කො මෝදර හින්දු විද්‍යාලය
   කොළඹ

6. කුමුදුනී බණ්ඩාර — සහකාර කොමසාරිස්
   අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**ලේඛක මණ්ඩලය**

1. ඒ. ඒ. විජේරත්න — ගුරු උපදේශක (විශ්‍රාමික)
   කලාප අධ්‍යාපන කාර්යාලය
   ශ්‍රී ජයවර්ධනපුර

2. සීතානි වීරසේකර — ගුරු උපදේශක
   මුලටියන කලාප අධ්‍යාපන කාර්යාලය
   හක්මණ

3. කේ. ඩබ්ලිව්. එස්. පී. උදය කුමාර — ගුරු සේවය
   බප/මතු/බුලත්සිංහල ජාතික පාසල
   බුලත්සිංහල

4. කුමුදුනී බණ්ඩාර — සහකාර කොමසාරිස්, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

5. කේ. කේ. එස්. ගුණතිලක — ගුරු උපදේශක, කලාප අධ්‍යාපන කාර්යාලය, ගම්පහ

6. කේ. ඩබ්ලිව්. කේ. ඩී. කරවිට — ගුරු සේවය, බප/හෝ/සීතාවක ම. ම. විද්‍යාලය, අවිස්සාවේල්ල

7. එම්. ඒ. සෞන්දර රාජන් — සහකාර අධ්‍යක්ෂ, කලාප අධ්‍යපන කාර්යාලය, නුවරඑළිය

8. කුරෙයිෂා ඉස්මයිල් — ගුරු සේවය, බප / හො / අල් ගස්සාලි ජාතික පාසල, ඇතුළුගම, බණ්ඩාරගම.

**භාෂා සංස්කරණය**

1. එම්. ඒ. එම් දමයන්ති — සංවර්ධන සහකාර, නව ආදර්ශ ප්‍රාථමික පාසල් සංවර්ධන ව්‍යාපෘතිය, අධ්‍යාපන අමාත්‍යාංශය

## සෝදුපත් කියවීම

1. මාලනී වැලිකල — ගුරු උපදේශක, කලාප අධ්‍යාපන කාර්යාලය, හෝමාගම

## පිටකවර නිර්මාණය

ඩබ්ලිව්. සංගීතා නෙළුම් කුමාරි — පරිගණක තාක්ෂණික සහායක, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## පරිගණක අක්ෂර සංයෝජනය

ඩබ්ලිව්. සංගීතා නෙළුම් කුමාරි — පරිගණක තාක්ෂණික සහායක, අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

පිටු අංක

# 01 තාක්ෂණික ක්ෂේත්‍රය කෘෂිකර්මය

## සරු බිමෙන් නෙළමු අපි අස්වනු

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- ප්‍රදේශයට ගැළපෙන බෝග යොදා වගා පාත්තියක් සකස් කිරීමට
- සිටුවීම සඳහා රෝපණ ද්‍රව්‍ය නිසි පරිදි පිළියෙල කිරීමට
- බෝග නිවැරදි ව සිටුවා නඩත්තු කිරීමට

හැකියාව ලැබෙනු ඇත.

මිනිසාට ප්‍රයෝජනවත් නිෂ්පාදන හා සේවා රැසක් විවිධ ශාක මගින් ලබා දෙයි. එම නිෂ්පාදන ලෙස ආහාර, පලතුරු, දැව, ඖෂධ, පාන වර්ග, තෙල් වර්ග හා සත්ත්ව ආහාර වැනි දෑ ද, පාරිසරික වශයෙන් ඉටු කරනු ලබන සේවා ලෙස වාතාශ්‍රය පිරිසිදු ව තබා ගැනීම, වැසි වනාන්තර මගින් වර්ෂාව ලබා දීම, සෝදාපාළුව පාලනය කිරීම, පස සාරවත් ව තබා ගැනීම, සෙවණ සැපයීම සහ පරිසරය අලංකාර කිරීම ආදිය ද දැක්විය හැකි ය.



1.1 රූපය . ශාක ආශ්‍රිත පරිසරයක්

## අප ජීවත් වන වටපිටාව

මෙහි දැක්වෙන 1.1 රූපය හොඳින් නිරීක්ෂණය කරමින් ඔබ දැක ඇති ශාක ආශ්‍රිත පරිසරයක් සිහියට නඟා ගන්න. ඒ අනුව ඔබගේ මතකයට නැගෙන තුරුලතා පිළිබඳ තවදුරටත් අධ්‍යයනය කිරීමට පහත සඳහන් ක්‍රියාකාරකමෙහි නිරත වන්න.

**ක්‍රියාකාරකම 1.1**

ඔබ දැක ඇති ශාක කිහිපයක ප්‍රයෝජන ලැයිස්තු ගත කරන්න.

ජනගහනය දිනෙන් දින වැඩි වීමත් සමඟ අප අවට ඇති ශාක ආශ්‍රිත පරිසරය ක්‍රමයෙන් විනාශ වීම දැකිය හැකි ය. ඇතැම් ස්ථානවල සෙවණට ගසක් නැති තරම් ය. විශාල හෝ කුඩා ශාක නැවත වගා කිරීමේ දැඩි අවශ්‍යතාවකට අප මුහුණ දී ඇත.

1.2 රූපය නිරීක්ෂණය කිරීමෙන් ඔබට එය මැනවින් පැහැදිලි වනු ඇත.



1.2 රූපය . ශාක අඩු නාගරික පරිසරයක්

**පුංචි අපට කළ හැකි දේ ,**

මේ සඳහා ඔබ වැනි කුඩා සිසු දරුවකුට කළ හැකි යමක් තිබේ ද?
සැබැවින් ම ඔව්.
කළ යුත්තේ කුමක් ද?

**කළ යුතු වන්නේ, ඒ සඳහා අප අවට හැකි තරම් ශාක වගා කිරීම යි.**

ශාක වගා කිරීම සඳහා අපට තිබෙන සුදුසු ම ස්ථානය අපේ ගෙවත්ත යි. ගෙවත්ත යනු නිවසට සමීප ව අවට ඇති බිම හා සම්බන්ධ අවකාශය යි. මෙහි විශාලත්වය ගෙවත්තෙන් ගෙවත්තට වෙනස් වේ. මිනිසාගේ අවශ්‍යතාව අනුව ගෙවත්තේ පවතින ඉඩකඩ විවිධ කාර්යයන් හා ප්‍රයෝජන සඳහා යොදා ගනියි. ගහකොළවලින් පිරි සජීවී පරිසරයක් හා එක් වීමට කැමති පුද්ගලයෝ තම ගෙවත්තේ විවිධ ප්‍රයෝජනවත් ශාක වර්ග වගා කර ඉන් වින්දනයක් හා තෘප්තියක් ලබා ගනිති. මේ අතර තමා ජීවත් වන පරිසරය විවිධ ශාකවලින් අලංකාර කර ගැනීම, සෙවණ හා සිසිලස ලබා දීමට ගස්වැල් වැවීම, ආහාර බෝග වර්ග වගා කිරීම හා නිවස අවට සතුන් ගැවසෙන ශාකවලින් පිරි ස්ථානයක් කර ගැනීම මගින් සුන්දර පරිසර පද්ධතියක් සකස් කර ගත හැකි ය.

**ගෙවත්තේ ශාක වගා කිරීමෙන්,**

- තුරුලතා ගැවසීගත් සුන්දර පරිසරයක් නිර්මාණය කළ හැකි වේ.
- නැවුම්, පිරිසිදු ආහාර බෝග සපයා ගත හැකි වේ.
- ආර්ථික වාසි ලබා ගත හැකි වේ.
- අවශ්‍ය ආහාර බෝග අප විසින් ම වගා කිරීමෙන් නිසි පරිදි බෝග වර්ග වගා කිරීමේ හැකියාව වර්ධනය වේ.
- පෝෂ්‍යදායී ආහාරපාන සඳහා උචිත බෝග නිපදවා ගත හැකි වේ.
- පිරිසිදු වාතාශ්‍රය ලබා ගත හැකි වේ.




1.3 රූපය . ගෙවත්තේ ශාක වගා කිරීමට සුදුසු කොටසක් තෝරා ගැනීම

යහපත් හා සාර්ථක ප්‍රතිඵල ලබා ගැනීමේ බලාපොරොත්තු ඇති ව අපේ ගෙවත්තේ බෝග වගා කිරීමට සූදානම් වෙමු.

ගෙවත්තේ බෝග වගා කිරීමේ දී සාමාන්‍යයෙන් බෝග වගාවේ දී අප හුරු පුරුදු වී ඇති ආකාරයේ යම් වෙනසක් සිදු විය යුතු බව හැඟේ. ඒ කුමක් ද යි නිවැරදි ව වටහා ගැනීමට නම්, අප කළ යුතු සහ අප රැක ගත යුතු දෑ මොනවා දැයි විමසා බලමු.



1.4 රූපය . ගෙවත්තෙන් වැඩ අරඹමු

### අප කළ යුතු දේ,

* පස දියුණු කිරීම හා නඩත්තුව
* පළිබෝධ පාලනය
* කාබනික පොහොර භාවිතය
* බෝග මාරුව
* යන්ත්‍ර වෙනුවට ශ්‍රම ශක්තිය යොදා ගැනීම
* දේශීය හා සාම්ප්‍රදයික බෝග ප්‍රභේද භාවිතය
* ප්‍රදේශයට ගැළපෙන බෝග වර්ග තෝරා ගැනීම

### අප රැක ගත යුතු දේ,

* පස, ජලය, වාතය ඇතුළු අවට පරිසරයේ පවිත්‍රතාව
  උදාහරණ :. කෘමිනාශක, රසායනික පොහොර වැනි විෂ ද්‍රව්‍යවලින් තොර වීම.
* ගෙවත්තේ වගා කරන බෝග නිෂ්පාදනවල පවිත්‍රතාව
  උදාහරණ :- විවිධ කෘෂි රසායනික ද්‍රව්‍ය තැවරීමෙන් තොර වීම

1.5 රූපය හොඳින් නිරීක්ෂණය කරන්න. බෝග වගාවට සුදුසු වටපිටාවක් එමගින් ඔබට දැකගත හැකි ය.




1.5 රූපය . බෝග වගාවට සුදුසු වටපිටාවක්

පහත දැක්වෙන්නේ පාසල් වත්තේ පහසුවෙන් සිටුවිය හැකි බෝග කිහිපයකි. ප්‍රයෝජන අනුව ඒවා කාණ්ඩ කර ඇති අයුරු විමසා බලන්න.

| ප්‍රයෝජනය | බෝග කාණ්ඩය | බෝග |
|---|---|---|
| 1. ආහාර | ධාන්‍ය | ඉදල් ඉරිඟු, බඩඉරිඟු |
| | එළවළු | බණ්ඩක්කා, ගෝවා, වම්බටු |
| | අල | ගහල, කිරි අල, වැල් අල |
| | පලා | කංකුං, කතුරුමුරුංගා, ගොටුකොළ |
| | පලතුරු | කෙසෙල්, අලිගැටපේර |
| 2. ඖෂධ | ඖෂධ | ආඩතෝඩ, කෝමාරිකා, තිප්පිලි |
| 3. රසකාරක | කුළු බඩු | ගම්මිරිස්, ඉඟුරු, මිරිස් |
| 4. අලංකාරය | මල් සහ විසිතුරු පත්‍රික | දහස්පෙතියා, රෝස, ක්‍රෝටන්, කෝලියාස් |

මේ අතරින් ඉඩකඩ හා අවශ්‍යතාව අනුව ප්‍රදේශයට ගැළපෙන බෝග කිහිපයක් තෝරා ගෙන සිටුවිය හැකි ය. එමෙන් ම මෙම බෝග කාණ්ඩ නියෝජනය වන පරිදි විවිධ බෝග තෝරා ගෙන වගා කළ හැකි ය. ගෙවත්තේ බෝග වගා කිරීමෙන් අපට වස විසෙන් තොර, නැවුම් හා පිරිසිදු පෝෂ්‍යදායී ආහාර අඩු වියදමකින් ලබා ගත හැකි ය. එමෙන් ම තනි බෝගයක් විශාල වශයෙන් වගා කරන වගා බිමක මෙන් නොව බෝග රාශියක් වගා කර තිබීම මෙහි විශේෂත්වයකි. මෙවැනි බෝග මෙන් ම වෙනත් ශාක වර්ග වගා කිරීම මගින් යම් විවිධත්වයක් ගෙවත්තකට ලබා දිය හැකි ය. බෝගවලට වැළඳෙන රෝග හා පළිබෝධ හානි අඩු කර ගැනීමට ද එය උපකාරී වේ.

### රෝපණ ද්‍රව්‍ය

සිටුවීම සඳහා අප එකිනෙකා තෝරා ගන්නා බෝග විවිධ ය. ඒවා සිටුවීම සඳහා සකස් කර ගන්නා ශාක කොටස් රෝපණ ද්‍රව්‍ය ලෙස හඳුන්වයි. රෝපණ ද්‍රව්‍ය නිසි පරිදි සකස් කර සිටුවීම කළ යුතු ය. එනම් පැළ වීමට සුදුසු වන පරිදි රෝපණ ද්‍රව්‍ය සුදනම් කර ගැනීම හා සකස් කර ගැනීම ඉතා වැදගත් ය. ඒවා නුසුදුසු තත්ත්වයේ පවතින විට රෝපණය වන්නේ නැත. සිටුවීම සඳහා යොදා ගන්නා විවිධ රෝපණ ද්‍රව්‍ය පහත සටහනේ දැක්වේ.




1.6 රූපය . සිටුවීම සඳහා යොදා ගන්නා රෝපණ ද්‍රව්‍ය

විවිධ රෝපණ ද්‍රව්‍ය හඳුනා ගත් පසු බීජ ප්‍රරෝහණය කිරීම සඳහා යොදා ගත හැකි පූර්ව ප්‍රතිකාරක පිළිබඳ ව විශේෂයෙන් දැනුවත් විය යුතු ය.

### පූර්ව ප්‍රතිකාර

හොඳ තත්ත්වයේ ශාකයක් ලබා ගැනීම සඳහා සිටුවීමට පෙර බීජවලට සිදු කරනු ලබන සියලු ම ක්‍රියා පූර්ව ප්‍රතිකාර ලෙස හඳුන්වයි.

### බීජ සඳහා පූර්ව ප්‍රතිකාර

1. බීජ ජලයේ පොඟවා රැයක් තබා පසු දා සිටුවීම
   උදාහරණ :-. බණ්ඩක්කා, මෑ
2. බීජ දැව අළු සමඟ මිශ්‍ර කර මඳ පවනේ වියළා දින කිහිපයකට පසු සිටුවීම
   උදාහරණ :-. තක්කාලි බීජ

**ක්‍රියාකාරකම 1.2**

පූර්ව ප්‍රතිකාර ලෙස තව දුරටත් යොදා ගත හැකි ද්‍රව්‍ය හෝ ක්‍රම සොයා බලන්න. ඔබ සොයා ගත් තොරතුරු සටහන් කර ගුරුතුමා සමඟ සාකච්ඡා කර තවදුරටත් දැනුම වර්ධනය කර ගන්න.

## උස් පාත්තියක් සාදමු. බෝග කිහිපයක් සිටවමු.

ඔබ මෙතෙක් දැක ඇති බෝග සිටුවන ලද විවිධ පාත්ති මතකයට නඟා ගන්න. ඒවා අතුරින් පොළොව මට්ටමට වඩා ඉහළට සිටින සේ සකස් කර ගත් පාත්තිවල විශේෂත්වයක් ඔබ දකින්නට ඇත. එනම් එම පාත්තිවල ජලය අනවශ්‍ය ලෙස රැඳා නොපවතින බැවින් ශාකවලට ප්‍රමාණවත් ලෙස ජලය ලබා දීමට එය උපකාරී වේ. එහෙත් මෙවැනි පාත්තිවල ද පහත සඳහන් ගැටලු ඇති විය හැකි ය.

* ජලය සැපයීමේ දී හෝ වර්ෂාවක දී පාත්ති හා ඉවුරු කඩා වැටීම
* බෝග රැක බලා ගැනීමේ දී නිතර පාත්ති පිළිසකර කර ගැනීමට සිදුවීම
* ඉඩෝර කාලවල දී වැඩිපුර ජල සම්පාදනය කිරීමට සිදුවීම

එබැවින් ගෙවත්තක පවතින ඉඩකඩ හා පහසුව මුල් කර ගනිමින් බෝග සිටුවීමට වඩාත් සුදුසු පාත්තියක් නිර්මාණ කර ගැනීම සුදුසු ය.

ඒ සඳහා සරල හා විකල්ප වගා පාත්තියක් ඔබට හඳුන්වාදීමට අපේක්ෂා කෙරේ. මෙහි විශේෂත්වය වන්නේ එය පොළොව මට්ටමින් උස් ව රාමුවක් තුළ සකස් කර ගන්නා පාත්තියක් වීමයි. රාමුව තුළ මතුපිට පස් හා හොඳින් දිරාපත් වූ කොම්පෝස්ට් වැනි කාබනික ද්‍රව්‍ය, 1:1 අනුපාතයට මිශ්‍රකර පාත්තිය පිළියෙල කරනු ලැබේ.

### රාමුවක් සහිත උස් පාත්තියක වගා කිරීමෙන් අපට අත්පත් කර ගත හැකි වාසි

* එලදායි ලෙස නිසි පරිදි වගාව නඩත්තු කිරීම පහසුවීම
* පාත්තියෙහි පස සෝදා යාම වළක්වා ගැනීමට හැකි වීම
* ගැඹුරෙන් පස පෙරළීමක් සිදු නොවන නිසා පසට සිදු වන හානිය අවම වීම
* වල් මර්දනය පහසු වීම
* අඩු ජල ප්‍රමාණයක් ප්‍රමාණවත් වීම
* බීජ හෝ රෝපණ ද්‍රව්‍ය අපතේ නොයාම
* සීමිත ඉඩකඩක වුව ද පාත්තිය සකස් කර පහසුවෙන් වගා කළ හැකි වීම
* අවශ්‍යතාව අනුව පාත්තියේ ප්‍රමාණය සහ වගා මාධ්‍ය වෙනස් කළ හැකි වීම
* බෝගයක් හෝ බෝග කිහිපයක් සැලසුම් සහගත ව වගා කර පවත්වාගෙන යා හැකි වීම
* මිතුරු බෝග ළඟින් ළඟ වගා කර ඇති බැවින් ලැබෙන අස්වැන්න වැඩි වීම

උස් පාත්තියේ රාමුව සකසා ගැනීමට පහත සඳහන් ද්‍රව්‍ය යොදා ගත හැකි ය.

* ඉරන ලද ලෑලි පිටපලු
* ඉවත දමන ගොඩනැගිලි ද්‍රව්‍ය

  උදාහරණ :. උළුකැට කැබලි, ගඩොල් කැබලි, ලෑලි කැබලි
* පොල් ලෙලි




1.7 රූපය . රාමුවක් සහිත උස් පාත්තියක්

## බෝග වගාවට සුදුසු අයුරින් පාත්තිය සකසමු

1. පාසල් භූමිය තුළ හොඳින් හිරුඑළිය ලැබෙන ස්ථානයක් තෝරා ගන්න.
2. පාත්තියේ රාමු සැකසීමට ඔබ කැමති පහසු ද්‍රව්‍යයක් තෝරා ගනිමින් 1.7 රූප සටහනේ දැක්වෙන ආකාරයට රාමුව සකස් කර ගන්න.
3. පාත්තියේ පළල සඳහා දළ වශයෙන් 1m පමණ තිබීම ප්‍රමාණවත් ය.
4. තමන්ට පාලනය කළ හැකි ප්‍රමාණයකට පාත්තියේ දිග තීරණය කරන්න.
5. එම ස්ථානයේ ඇති පස බුරුල් කර පස් කැට හොඳින් මුල්ලු කර පොඩි කර ගන්න.
6. හොඳින් පස බුරුල් කර බොරළු හා වෙනත් නොදිරන ද්‍රව්‍ය ඉවත් කර ගන්න.
7. ඔබ තෝරා ගත් ස්ථානයේ මෙම රාමුව සකස් කරන්න.
8. සකස් කර ගත් පාත්තිය කාබනික ද්‍රව්‍ය හා මතුපිට පස් මිශ්‍රණයෙන් පුරවන්න.
9. පාත්තියේ සිටුවීම සඳහා ප්‍රදේශයට සුදුසු ගුණාත්මක රෝපණ ද්‍රව්‍ය තෝරා ගන්න.

ඒ සඳහා,

- පාත්තියේ ම බීජ සිටුවිය හැකි බෝග
- තවාන් දමා පැළ සිටුවිය යුතු බෝග
- සිටුවීම සඳහා ගන්නා දඬු කැබලි, භූගත කඳන් වැනි වර්ධක කොටස් සුදුසු ය.

10. පූර්ව ප්‍රතිකාර යොදා ගැනීම අවශ්‍ය නම් එම ප්‍රතිකාර සිදු කර ඒ ඒ පැළ සඳහා සුදුසු පරතර සහ ගැඹුර තීරණය කර සිටුවන්න.




1.8 රූපය . ගොඩනැගිලිවලින් ඉවත ලන ලෑලි කැබලි යොදා තනන ලද රාමුවක් සහිත උස් පාත්තියක්



ඔබගේ අවශ්‍යතාව අනුව බෝග කිහිපයක් එක ම පාත්තියක සිටුවිය හැකි ය. උස ශාකවලින් අනෙක් ශාක ආවරණය නොවන පරිදි වගා කිරීම සුදුසු ය. අවශ්‍යතාව අනුව මෙම පාත්තියේ එක් බෝගයක් වුව ද පහසුවෙන් වගා කළ හැකි ය.

**ක්‍රියාකාරකම 1.3**

ඉහත සඳහන් පාත්තියේ රාමුව සැකසීම සඳහා යොදා ගත හැකි වෙනත් ඉවත දමන ද්‍රව්‍ය ලැයිස්තුවක් පිළියෙල කරන්න. ඔබේ දැනුම පන්ති කාමරයේ සිසුන් අතර හුවමාරු කර ගන්න.

### පාත්තියේ බෝග සිටවමු

බෝග පැළ අතර පරතර අඩු වන විට එම ශාක ආලෝකය සොයා යාම සිදු වේ. එවිට පැළ සිහින් වී දික් වේ. පැළ අතර පරතරය සුදුසු පරිදි ඇති විට පැතුරුණු නිරෝගී පැළ ලැබේ. එම නිසා බෝග විවිධත්වය අනුව හා සිටුවන ස්ථානය අනුව පරතර තීරණය කර ගත යුතු ය.

### සෙවන සපයමු ජලය යොදමු

* බීජ හෝ පැළ සිටුවීමෙන් පසු දින කිහිපයක් සෙවණ සපයන්න.
* බීජ හෝ පැළවලට සුදුසු පරිදි ජලය යොදන්න.

### පස හා පරිසරය රැක ගනිමු. බෝග හානි වළකා ගනිමු

වගා කළ බෝග පිළිබඳව නිරතුරුව අවධානය පරීක්ෂාවට යොමු කිරීම ඉතා වැදගත් ය. දිනපතා බෝග නිරීක්ෂණය කිරීමෙන් බෝගවල දැකිය හැකි වෙනස්කම් පමා නොවී දැකබලා ගත හැකි ය. පසේ තෙතමනය පවත්වා ගැනීම, වල් පැළෑටිවලින් තොර ව වගා බිම නඩත්තු කිරීම, හානියට පත් ව ඇති ශාක කොටස්වල ස්වභාවය පිළිබඳ ව විමසිලිමත් වීම වැනි කාර්යයන් ඉතා පහසුවෙන් කළ හැකි වන්නේ අප දිනපතා බෝග නිරීක්ෂණය කළහොත් පමණි. බෝග වගාව යහපත් මට්ටමින් පවත්වා ගැනීමෙන් බෝග හානි අඩු කර ගත හැකි වේ.

### බෝග නඩත්තු කරමු

බෝග නඩත්තු කටයුතුවල දී පහසුවෙන් සිදු කළ හැකි කාර්යයන් කිහිපයක් පහත දැක්වේ.

* වල් පැළෑටි අතින් උදුරා ඉවත් කිරීම
* කෘමීන් සහ කෘමීන් හානි කළ ශාක කොටස් ඉවත් කිරීම
* රෝගී ශාක ඉවත් කර විනාශ කිරීම

* සුළඟට චලනය වන පරිදි සැහැල්ලු ද්‍රව්‍ය වගා පාත්ති අතර එල්ලා තැබීම (කුරුල්ලන් පලවා හැරීමට)
* පමණට වඩා ජලය සැපයීම වැළැක්වීම
* වරින් වර පස බුරුල් කිරීම
* වගා පරිසරයේ හැසිරෙන විලෝපී සතුන් (වගාවට හානි කරන කෘමින් ආහාරයට ගන්නා සතුන්) කලබලයට පත් නොකිරීම

## වගා මිතුරන් හඳුනා ගනිමු

සමහර ශාක විශේෂ මෙන් ම ඇතැම් සත්ත්ව විශේෂ, වගා මිතුරන් ලෙස හඳුනා ගෙන කටයුතු කිරීම වැදගත් ය. විවිධ වගා මිතුරු ශාක සිටුවීමේ දී ඒවායේ වර්ධක අවධි හඳුනාගෙන සිටුවීම වැදගත් ය. උදාහරණ ලෙස සමහර වගා මිතුරු ශාකවල මල් පිපෙන අවධියේ දී බෝග සිටුවීම දැක්විය හැකි ය.

**ඇසට පෙනෙන වගා මිතුරු සතුන්**

| ප්‍රයෝජනය | උදහරණ |
|---|---|
| පස බුරුල් කිරීම | ගැඩවිලා, බිං උෟරා |
| කෘමීන් ආහාරයට ගැනීම | කටුස්සා, බත්කූරා, ගෙම්බා, මකුළුවා පේරකොළයා, ලේඩි බර්ඩ් කුරුමිණියා, මල් කුරුමිණියා, ඉබි කුරුමිණියා |
| ගොලුබෙල්ලන් විනාශ කිරීම | ඇටිකුකුළා |

**වගා මිතුරු ශාක**

- වහනය වන ගන්ධය නිසා සත්ත්ව පළිබෝධ පළවා හරින ශාක

  උදාහරණ :- මිරිස්, සුදුළූණු, ඉඟුරු, ගඳපාන, ලීක්ස්, සේර, මෙරිගෝල්ඩ්, මින්චි, ළූණු, කෝමාරිකා,

- වගා මිතුරු සතුන් ආකර්ෂණය කරන ශාක

  උදාහරණ :- කැරට්, කැනාස්, මින්චි, කොත්තමල්ලි, දෙහි

## රෝග පාලනයේ දී යොදා ගත හැකි පරිසර හිතකාමී ක්‍රම

බෝග කුඩා අවධියේ සිට අස්වනු ලබා ගන්නා කාලය දක්වා විවිධ රෝගවලට බඳුන් වේ. දියමළන්කෑම, හිටුමැරීම, කොළ කොඩවීම ආදී රෝග වගාවන් අතර බහුල ව දැකිය හැකි ය. ශාක රෝග අතර ඒවා මර්දනය කිරීමේ දී රසායනික ද්‍රව්‍ය භාවිත කිරීම වෙනුවට යාන්ත්‍රික ක්‍රම හා සරල ප්‍රතිකර්ම යෙදීම වඩා යෝග්‍ය ය.

උදාහරණ වශයෙන් දහයියා අඟුරු, ශාක දියර වර්ග භාවිත කිරීම යෝග්‍ය වේ. රෝගී කොටස් ශාකයෙන් ඉවත් කිරීම හා ඒවා උදුරා පිළිස්සීම ද කළ හැකි ය.

## රෝග හා පළිබෝධ හානි අවම කර ගැනීමට කළ හැකි සරල ප්‍රතිකර්ම

- **යාන්ත්‍රික ක්‍රම භාවිතය**
    - රැහැන් එල්ලා සතුන්ගේ ගමනට බාධා කිරීම
    - යටිකුරු වී 'V' හැඩයේ පන්දලම් භාවිතය




1.9 . රූපය
රැහැන් එල්ලීම




1.10 . රූපය
යටිකුරු වී 'V' හැඩයේ පන්දලම්

- **දියර භාවිතය**

  අරලිය මල්, කොහොඹ, අනෝදා, කොච්චි, සුදු ලූනු, පැපොල් ගෙඩි, වල් හබරල, වතුපාළු, පොඩිසිඤ්ඤෝමරං, කහඹිලියා වැනි ශාක වර්ග කොටා ද්‍රාවණ ලබා ගෙන ඒවා පළිබෝධ හානි වළක්වා ගැනීමට යොදා ගැනීම

- **දුම් භාවිතය**

  කජු ලෙලි, මදුරුතලා, දහස්පෙතියා, කොහොඹ කොළ වැනි දෑ පුළුස්සා දුම් ගැසීම

**ක්‍රියාකාරකම් 1.4**

පළිබෝධ හානි අවම කර ගැනීමට කළ හැකි වෙනත් සරල ප්‍රතිකර්ම පිළිබඳ තොරතුරු ඔබේ වැඩිහිටියන්ගෙන් විමසා දැන ගන්න. ඔබ සොයා ගත් තොරතුරු අභ්‍යාස පොතේ සටහන් කර එම කරුණු ගුරුතුමා සමඟ සාකච්ඡා කරන්න.

**ක්‍රියාකාරකම් 1.5**

**ගෙවතු උපකරණ**

නිවසේ දී හෝ පාසලේ දී කෘෂිකාර්මික කටයුතු කිරීම සඳහා ඔබ පරිහරණය කරන ගෙවතු උපකරණ පිළිබඳ තොරතුරු සොයා බලන්න. ඒ සඳහා පහත සඳහන් ආකෘතිය භාවිත කරන්න.

| උපකරණයේ නම | පාවිච්චි කරන/කළ ස්ථානය | | ප්‍රයෝජන |
|---|---|---|---|
| | නිවස | පාසල | |
| 1. .......................... | .................. | .................. | .............................. |
| 2. ........................... | .................. | .................. | .............................. |
| 3. .......................... | .................. | .................. | .............................. |
| 4. .......................... | .................. | .................. | .............................. |
| .......................... | ................. | .................. | .............................. |
| .......................... | ................. | .................. | .............................. |

**ක්‍රියාකාරකම 1.6**

පහත සඳහන් කටයුතුවල දී යොදා ගන්නා කෘෂිකාර්මික උපකරණ මොනවා ද?

1. පැළයක් ගලවා වෙනත් ස්ථානයක සිටුවීම
2. පාත්තියක් පිළියෙල කිරීම
3. වැල් නිවිති පාත්තියකට මැස්සක් සැකසීම

## වල් පැළ පාලනය කරමු

අප සකස් කර ගත් උස් පාත්තියේ පස නිරතුරු ව ම බුරුල් ව පවතින නිසා වල් පැළෑටි අතින් උදුරා දැමීම දුෂ්කර කාර්යයක් නොවේ. මෙවැනි පාත්තියක බොහෝ විට වල් පැළෑටි ඇති වන්නේ ඉතා අඩුවෙනි. ප්‍රශස්ත මට්ටමින් කාබනික පොහොර භාවිතය ද වල් පැළෑටි උදුරා දැමීම පහසු කරයි. නිසි පරිදි වල් පැළෑටි මර්දනය කිරීමෙන් රෝග හා පළිබෝධ පාලනය කර ගත හැකි ය. එ මගින් අනවශ්‍ය ලෙස ශාක පෝෂක අපතේ යාම වළක්වාගෙන සාර්ථක ලෙස නිරෝගී බෝගවලින් සමන්විත වගාවක් පවත්වා ගත හැකි ය. එමෙන් ම පාත්තිය හා අවට යම් අලංකාර බවක් ද දැකිය හැකි වේ. නිවැරදි වල් පැළෑටි මර්දනයක් සිදු වන්නේ නම් වල් පැළෑටිවල මල් පිපෙන්නට ප්‍රථම ඒවා ඉවත් කර ගත හැකි ය.

### රෝග හා පළිබෝධ පාලනයේ දී යොදා ගන්නා පරිසර හිතකාමී ක්‍රම

- නිසි පරිදි වල් පැළෑටි මර්දනය කිරීම
- නිසි පරිදි ජල සම්පාදනය කිරීම

නිසි ලෙස වල් පැළෑටි මර්දනය හා ජල සම්පාදනය සිදු කරන්නේ නම් පළිබෝධවලින් තොර ශාක වර්ධනයක් දැකිය හැකි ය.



1.11 රූපය . රෝග වැළඳුණු ශාක කොටස් කිහිපයක්



1.12 රූපය . පළිබෝධ හානියට ලක් වූ ශාක කොටස්

රසායනික ද්‍රව්‍ය භාවිත නොකර, පළිබෝධ පාලනය කර, නිරෝගී වගාවක් ලබා ගැනීමෙන් වස විසෙන් තොර නැවුම් ඵලදාවක් ලබා ගත හැකි වනු ඇත.

## පාංශු ජල සංරක්ෂණය

බෝග වගාවේ දී පසේ ඇති හා පසට සපයන ජලය ආරක්ෂා කර ගැනීම පාංශු ජල සංරක්ෂණයයි.

බෝග සිටුවීමේ දී වගා බිම වැඩිපුර වාතයට හා හිරු එළියට නිරාවරණය නොවන ලෙස වගා කිරීම යෝග්‍ය වේ. ඒ සඳහා වගාබිම ආවරණය කිරීමට විවිධ ද්‍රව්‍ය හා ශාක භාවිත කරයි. ඒවා වසුන් ලෙස හැඳින්වේ.



1.13 රූපය . වසුන් යෙදීම

වසුන් විවිධ ආකාරයට වර්ග කළ හැකි ය.

- ජීව හා අජීව වසුන්

    ජීව වසුන් :- වසුන් ලෙස වගා කළ හැකි ශාක, ගොටුකොළ, රටකජු, බතල

    අජීව වසුන් : - ලී කුඩු, පිදුරු, පොල් අතු, කෙසෙල් පත්‍ර, පොල් ලෙලි, පොල් මුඩු, කොහු බත්, දහයියා, දිරාපත් නොවන පොලිතින්, සෙමින් දිරාපත් වන කඩදාසි

- දිරාපත්වන හා දිරාපත් නොවන වසුන්

    දිරාපත් නොවන වසුන් :- පොලිතීන්
    දිරාපත් වන වසුන් :- කඩදාසි

**ක්‍රියාකාරකම 1.7**

ඔබේ ගෙවත්තේ හෝ පාසලේ වසුන් වශයෙන් යොදා ගත හැකි දේ පිළිබඳ නිරීක්ෂණය කර, ලැයිස්තුවක් පිළියෙල කරන්න.

# නෙත පිනවන විසිතුරු ශාක

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- විසිතුරු පත්‍රික හා මල් සඳහා වගා කරන ශාක ව්‍යූහ විලාස අනුව තේරීමට
- බඳුන්ගත ශාක නිවැරදි ව හදා වඩා ගැනීමට
- විචිත්‍රවත් පෙනුමක් ලැබෙන පරිදි අවට පරිසරය විසිතුරු ශාකවලින් අලංකාර කර ගැනීමට

හැකියාවක් ලැබෙනු ඇත.



1.14 . රූපය



1.15 . රූපය

විසිතුරු පත්‍රික හා මල් සඳහා වගා කරන ශාකවලින් අලංකාර වූ නිවසක වට පිටාවක් 1.15 රූපයෙන් ඔබට දැක ගත හැකි ය. 1.14 රූපයේ දක්වෙන නිවස හා ඒ අවට පරිසරයට වඩා 1.15 රූපයෙන් දක්වෙන නිවස හා ඒ අවට පරිසරය ප්‍රසන්න හා ආකර්ෂණීය බව ඔබට පෙනේ ද?

එහි ප්‍රසන්න හා අලංකාර බව ඇති කිරීමට කුමන ලක්ෂණ බලපා ඇති දැයි නිරීක්ෂණය කරන්න. ඒ අනුව

- ශාකවල ඇති විවිධ ලක්ෂණ මගින් ස්ථානයට දකුම්කලු බවක් ගෙන දී ඇති බව
- විවිධ ශාක වර්ග ස්ථාන ගත කර ඇති ආකාරයෙන් අලංකාරයක් ගෙන දී ඇති බව
- ඒ ඒ ස්ථානයට සුදුසු ශාක වර්ග තෝරා සිටුවීමෙන් දර්ශනීය පරිසරයක් ගොඩ නැගී ඇති බව
- විවිධ ශාක ව්‍යූහ විලාසය අනුව (වැල්, එල්ලා වැටෙන ශාක, කේතු ආකාර ශාක, කුරු ශාක) ශාක එකතුවක් කිරීමෙන් අලංකාරය වැඩි දියුණු වී ඇති බව

ඔබට පැහැදිලි වනු ඇත.

විචිත්‍රවත් පෙනුමක් ලබාදෙන විසිතුරු ශාක මගින් පරිසරයට විවිධත්වයක් ලබා දෙන බව ඔබට දැන් පැහැදිලි වන්නට ඇත. මෙම ශාක ප්‍රධාන වශයෙන් කාණ්ඩ දෙකකට වෙන් කර දැක්විය හැකි ය.  ඒවා නම්,

- **විසිතුරු පත්‍රික ශාක**
- **අලංකාර මල් සහිත ශාක**

විසිතුරු ශාක මගින් පරිසරයට වර්ණවත් බවක් හා අලංකාරයක් ගෙන දෙයි. ඇතැම් ශාකවල මල් අතිශයින් ප්‍රසන්න පෙනුමක් ලබා දෙන අතර සමහර ශාකවලින් ආකර්ෂණීය බව පෙන්නුම් කරන්නේ පත්‍රවල ස්වභාවය හා එහි වර්ධනය වන ආකාරය අනුව ය.

සෑම ශාකයකට ම සම්මත විද්‍යාත්මක නාමයක් ඇත. එමෙන් ම බහුල ව දැකිය හැකි ඇතැම් ශාක ප්‍රචලිත නම්වලින් හඳුන්වා දීමට ශාකවලට ඇලුම් කරන අය පුරුදු වී ඇත. එවැනි ප්‍රචලිත, විසිතුරු ශාක කිහිපයක් පහත සඳහන් කර ඇත.

* **ක්‍රෝටන්**
* **සපත්තු මල්**
* **කස**
* **කෝප්ප කොළ**
* **රෝස**
* **පතොක්**
* **මොණර මල්**
* **හණ**
* **අරලිය**
* **අන්දර**

## බහුල ව දැකිය හැකි විසිතුරු ශාක හඳුනා ගනිමු

### විසිතුරු පත්‍රික ශාක



කෝලියාස් වර්ගයක්



මීවන



මොන්ස්ටෙරා



එපිෂියා



සෙන්සවේරියා



බිගෝනියා



ක්‍රෝටන්



ඇලෝකේෂියා



ෆිලොඩෙන්ඩ්‍රන්



ඩ්‍රැසීනා



කැලේතියා



පෙපරෝමියා



මැරෙන්තා



පාම්



දුරැන්තා

**ක්‍රියාකාරකම 1.8**

ඔබේ පාසල් වත්තේ හා ගෙවත්තේ දැකිය හැකි විසිතුරු පත්‍රික ශාක තෝරා ගෙන ඒවා වෙන වෙන ම අංකනය කර ලැයිස්තු ගත කරන්න. ඔබට හඳුනා ගත හැකි ශාක නම් කරන්න.

## අලංකාර මල් සහිත ශාක



සීනියාස්



ඇන්තූරියම්



වැල් රෝස



කුඩලු



ඩේලියා



උඩවැඩියා



දහස්පෙතියා



බෝගන්විලා



කපුරු



කැනාස්



ජෙරනියම්



ජර්බෙරා

**ක්‍රියාකාරකම 1.9**

ඔබේ පාසල් වත්තේ හා ගෙවත්තේ දැකිය හැකි අලංකාර මල් සහිත ශාක තෝරාගෙන ඒවා වෙන වෙන ම අංකනය කර ලැයිස්තු ගත කරන්න. ඔබට හඳුනා ගත හැකි ශාක නම් කරන්න.

## වැඩීමේ විලාසය අනුව පරිසරය අලංකාර කරන ශාක තෝරමු

වැඩීමේ විලාශය අනුව විසිතුරු ශාක පහත සඳහන් අයුරු වර්ග කළ හැකි ය.

- වැල්



1.16 රූපය . ගස් ආධාර කරගෙන වැඩෙන ශාක

ආරෝහක, ආධාරක හා සමීපයේ වැඩෙන ගස් හා අතු ආධාර කරගෙන වැඩෙන ශාක මෙයට අයත් ය.
උදාහරණ:- මොන්ස්ටෙරා, සමහර ෆිලොඩෙන්ඩ්‍රන් විශේෂ සහ බෝගන්විලා,

- එල්ලා වැටෙන ශාක



1.17 රූපය . එල්ලා වැටෙන ශාක

උදාහරණ :- වොන්ඩරින් ජූ, ස්පයිඩර් ප්ලාන්ට්

- කේතු ආකාර ශාක



1.18 රූපය . කේතු ආකාර ශාක

උදාහරණ :-. සයිප්‍රස්, කසා වර්ග

- කුරු ශාක



1.19 රූපය . කුරු ශාක

උදාහරණ :-. මිටි ඉක්සෝරා, ගඳපාන (මිටි වර්ගය)

ගෙමිදුල හෝ අවට පරිසරය අලංකාර කිරීමේ දී යොදා ගත හැකි විසිතුරු ශාක වර්ග පිළිබඳ ව මේ වනවිට අප හඳුනා ගෙන ඇත. සිතට තෘප්තියක් ලබාගත හැකි අයුරින් විසිතුරු ශාක යොදා ගැනීම සහ භාවිතය පිළිබඳ ව සැලකිලිමත් විය යුතු ය. ස්ථානයට ගැළපෙන ශාක වර්ග තෝරා ගැනීම මෙන් ම ශාක වර්ධනය හා එහි පෙනුම සඳහා අවශ්‍ය පාරිසරික සාධක (හිරු එළිය, වාතාශ්‍රය හා තෙතමනය) සැපයීම හා පවත්වා ගැනීම අතිශයින් වැදගත් ය.
පහත දැක්වෙන්නේ පන්ති කාමරයක හෝ නිවසක මුල්ලක් දර්ශනීය ලෙස පවත්වා ගැනීම සඳහා විසිතුරු ශාක කිහිපයක් ස්ථාන ගත කරන ආකාරයයි.



පළමු වන පියවර



දෙවන පියවර



තුන් වන පියවර



හතර වන පියවර



පස් වන පියවර

1.20 රූපය . විසිතුරු ශාක එකතුවක්

ඉහත රූප පෙළෙන් දිස් වෙන පරිදි ක්‍රමානුකූල ව පිළිවෙළින් ගැළපෙන වර්ණ සංයෝජනයන් ඇති ව ඉදිරියට පැළෑටි හා විවිධ ද්‍රව්‍ය තැබීමෙන් කිසියම් ස්ථානයක් අලංකාර කර ගත හැකි වේ. මෙහි දී යොදා ගන්නා ශාක වරින් වර මාරු කිරීමෙන් නව්‍යතාවක් සහිත ආකර්ෂණීය ස්ථානයක් බවට පත් කළ හැකි ය.

භූමි අලංකරණය සඳහා විවිධ විසිතුරු පැළෑටි බඳුන්වල තිබෙන ආකාරයෙන් ම තැන්පත් කිරීම හෝ ඒවා භූමියේ සිටුවීම ද කළ හැකි වේ.

**ක්‍රියාකාරකම 1.10**

නොයෙක් පර්යේෂණ හා අත්දැකීම් පදනම් කරගෙන විවිධ රාජ්‍ය ආයතන හා පෞද්ගලික ආයතන විසින් විසිතුරු ශාක සඳහා නිකුත් කර ඇති තොරතුරු බොහෝ ය. මෙවැනි දේ එකතු කර ගොනුවක් සකස් කරන්න.

## විසිතුරු ශාක බඳුන් ගත කිරීම

පහසුවෙන් නඩත්තු කිරීම මෙන් ම විවිධ ස්ථානවලට ගෙන යාමේ පහසුව සඳහා විසිතුරු ශාක බඳුන්වල සිටුවා ගනු ලබයි.

පැළ, බඳුන්ගත කිරීම සඳහා පොදුවේ යොදා ගත හැකි මාධ්‍යයක් පහත සඳහන් කර ඇත.

| | | |
|---|---|---|
| මතුපිට පස් | කොටස් | 4 |
| දිරා ගිය කොළ පොහොර | කොටස් | 2 |
| ගොම පොහොර | කොටස් | 1 |
| ගංගා වැලි | කොටස් | 1 |

ඉහත සඳහන් ද්‍රව්‍ය හොඳින් මිශ්‍ර කර ගත යුතු ය. සකස් කර ගත් බඳුනට පළමු ව ජල වහන සිදුර අවහිර නොවන පරිදි ගඩොල් කැබලි හෝ උළු කැට කැබලි අතුරා ගැනීම සුදුසු වේ. ඉන් පසු එය මතට වියළි කොළ රොඩු තට්ටුවක් යෙදිය යුතු ය. එයට උඩින් සකස් කරගත් මිශ්‍රණය පුරවා හොඳින් තද කළ යුතු ය.




1.21 රූපය . පැළයක් සිටුවීමට බඳුන සකස් කිරීම

පැළ බඳුන් ගත කිරීම වෙනත් විවිධ මාධ්‍ය යොදා ගනිමින් සිදු කරන ආකාරය 1.22 හා 1.23 රූපවල දක්වා ඇත.




1.22 රූපය . ඕකිඩ් පැළයක් බඳුන්ගත කිරීම




1.23 රූපය . ඇන්තූරියම් පැළයක් බඳුන් ගත කිරීම

## සිටුවා ගත් පැළයක් නැවත බඳුන් ගත කිරීම

සමහර පැළෑටි බඳුනකින් බඳුනකට මාරු කිරීම අවශ්‍ය වන අවස්ථා ඇත. එවැනි මාරු කිරීමක් අවශ්‍ය වන පැළෑටිවල ලක්ෂණ හඳුනා ගන්න.

- පොහොර යෙදුව ද පැළෑටියේ වර්ධනයේ වෙනසක් දක්නට නොලැබෙන අවස්ථා
- පැළෑටියේ මුල් බඳුනෙන් පිටතට පැමිණි අවස්ථා
- පැළය විශාල වීම නිසා එම බඳුන තවදුරටත් ප්‍රමාණවත් නොවන අවස්ථා

### නව බඳුනකට පැළයක් මාරු කිරීමේ පියවර

1. මාධ්‍ය සැකසීම
2. පැළෑටිය ගැලවීම
3. පැළෑටියේ මුල් ශුද්ධ කිරීම හා වැඩි මුල් කප්පාදු කිරීම
4. පිළියෙල කරගත් නව බඳුන තුළට මාධ්‍ය ස්වල්පයක් දැමීම
5. පැළෑටිය බඳුන තුළ තැබීම
6. සකස් කරගත් ඉතිරි මාධ්‍යය පැළෑටිය වටේට බඳුනට පිරවීම
7. මාධ්‍ය හොඳින් තද කිරීම
8. ජලය ස්වල්පයක් දැමීම



1.24 රූපය
පැළෑටි මුල් ශුද්ධ කිරීම
වැඩි මුල් කප්පාදු කිරීම



1.25 රූපය
නව බඳුන තුළ පැළෑටිය තැබීම



1.26 රූපය
පැළෑටිය වටා මාධ්‍යය
පිරවීම

**ක්‍රියාකාරකම 1.11**

බඳුනෙන් පිටතට මුල් ඇදී ගොස් ඇති පැළෑටියක් තෝරා ගන්න.

ඉහත රූපවල දක්වා ඇති පරිදි සුදුසු බඳුනක් තෝරා ගෙන, සකස් කරගත් මාධ්‍ය පුරවා, එම පැළය නැවත බඳුන් ගත කරන්න.

# දකිමු විඳිමු සුරකිමු පරිසරයේ සිරිසර

මෙම පරිච්ඡේදය හැදෑරීමෙන් ඔබට,

- ගෙවතු ආශ්‍රිත සුලබ ව හමු වන සතුන්ගේ චර්යා නිරීක්ෂණය කිරීමට
- සතුන්ගේ පැවැත්ම පරිසරයට වැදගත් වන අයුරු අත්දැකීමට
- සතුන්ගේ අවශ්‍යතා ඉටු වන පරිසරයක් ගොඩ නැගීමට

හැකියාවක් ලැබෙනු ඇත.

ගෙවත්තේ හා පාසල් වත්තේ විවිධ ජීවීන් සිටින බව ඔබ දැක ඇත. ඔබට නිතර හමු වන බල්ලන්, බළලුන්, කපුටන් වැනි සතුන් හැරුණු කොට විමසිලිමත් ව බැලූ කල තවත් බොහෝ සතුන් දක්නට ලැබේ. මෙම සතුන් හා ශාක අතර ඇත්තේ විශාල සබැඳියාවකි. මීට අමතර ව සුළඟ, වාතය, ජලය, පස, ගංගා, දිය ඇලි, සමුද්‍රය වැනි අප අවට ඇති අජීව දේ බොහෝ ය.



මිනිසාගේ විවිධ කටයුතු නිසා මෙම ස්වාභාවික පරිසරය බෙහෙවින් වෙනස් වෙමින් පවතී. මිනිසාගේ මැදිහත්වීම යටතේ සිදු කරන ක්‍රියාකාරකම් ලෙස කෘෂිකාර්මික කටයුතු, ගොඩනැගිලි, මංමාවත් හා මහා මාර්ග ඉදිකිරීමේ කටයුතු හා වෙනත් සංවර්ධන කටයුතු ද සැලකිය හැකි ය. තව ද සුනාමි, ගංවතුර, නියඟ, සුළි කුණාටු වැනි ප්‍රබල පාරිසරික වෙනස්වීම් අද දවසේ අපට දැක ගත හැකි ය. එම වෙනස්වීම් කෙරෙහි මිනිසාගේ සෘජු බලපෑමක් නොවුව ද, වාතය හා ජලය පරිහරණය වැනි කටයුතු මිනිසාගේ මූලික බලපෑම හා මැදිහත්වීම මත සිදු වේ. ඔබේ වැඩිහිටියන් කුඩා කළ දැක ඇති සමහර සතුන් හා කුඩා ජීවීන් අද පරිසරයේ අඩුවෙන් දක්නට ලැබෙනුයේ ඒ නිසා ය. එවන් සතුන් පිළිබඳ තව දුරටත් අධ්‍යයනය සඳහා පහත සඳහන් ක්‍රියාකාරකමෙහි යෙදෙන්න.

**ක්‍රියාකාරකම 1.12**

| ජීවියා | ඔබ ජීවත් වන ප්‍රදේශය | වර්තමානයේ දක්නට.... | | | විස්තර ලබා ගත් ආකාරය |
|---|---|---|---|---|---|
| | | ලැබෙනුයේ මඳ වශයෙන් | ලැබෙනුයේ ඉතා මඳ වශයෙන් | නොලැබේ | |
| 1. බිං ඌරා<br>2.<br>3.<br>4.<br>5.<br>6.<br>7.<br>8.<br>9.<br>10. | | | | | |

මෙම ක්‍රියාකාරකම සඳහා ඔබගේ වැඩිහිටියන්, ගුරුවරුන් හා යහළුවන් වෙතින් සහයෝගය ලබා ගන්න. ක්‍රියාකාරකම අවසානයේ එය පන්තියට ඉදිරිපත් කරන්න.

ජීව හා අජීව පද්ධතිවලින් ස්වාභාවික පරිසරය ගොඩ නැගී ඇති බව ඔබට දැන් පැහැදිලි වන්නට ඇත. අප ජීවත් වන එම පරිසරය රැක ගැනීම මිහිතලයේ වෙසෙන අප සැමගේ යුතුකමක් හා වගකීමක් වේ.

**විවිධ සතුන් සහ ඔවුන් ජීවත් වන ස්ථාන ආරක්ෂා කිරීම අප සැමගේ යුතුකමක් මෙන් ම වගකීමකි.**

## ගෙවත්තට එන අමුත්තන් පිළිගනිමු

අප ආසන්න පරිසරයේ ජීවත් වන වගාවට හිතකර සතුන් සමහරක් පහත වගුවේ සඳහන් කර ඇත. ඔවුන් ජීවත් වන විවිධ පරිසර පිළිබඳ අධ්‍යයනය කරන්න.

| ජීවත් වන ස්ථානය | ජීවියා | ජීවත් වන ස්ථානය | ජීවියා |
|---|---|---|---|
| උස ශාකවල | බස්සා | ශාක හා ගල් මත | කටුස්සා |
| මධ්‍යස්ථ උස ශාකවල | මී මැස්සා | ගල් හා පොල්ලෙලි යට | පත්තෑයා |
| මිටි ශාකවල | දෙමළිච්චා | ලී කොට මත | කෑරලා |
| පස තුළ | ගැඩවිලා | මිරිදිය පොකුණු තුළ | තිත්තයා |

ඔබට සමීප පරිසරයේ ඇති විවිධ ජීවීන් තවදුරටත් අධ්‍යයනය කරමු. මේ සඳහා දැඩි සංයමයකින් යුතුව පරිසරය නිරීක්ෂණය කිරීම අත්‍යවශය වේ.

**ක්‍රියාකාරකම 1.13**

(i). ගෙවත්ත ජීවීන්ගේ වාසස්ථානය බවට පත් වී ඇත්තේ කෙසේදැයි නිරීක්ෂණය කරන්න.

(ii). ගෙවත්ත හා අවට වටපිටාව නිරීක්ෂණය කර පහත සඳහන් වගුව පුරවන්න (මේ සඳහා ඔබේ අභ්‍යාස පොත භාවිත කරන්න).



| වාසස්ථානය | සුවිශේෂී ස්ථාන | ජීවියා |
|---|---|---|
| 1. ශාක | තණකොළ මඟින් පස ආවරණය වී ඇති විවෘත ස්ථාන | තණකොළ පෙත්තා |
| 2. | | |
| 3. | | |

## ගෙවතුවල දක්නට ලැබෙන සතුන් කිහිපදෙනෙකු හඳුනා ගනිමු

උදාහරණ :-



ඇටි කුකුළා



උණරු මීයා



හාවා



උණහපුලුවා



කබරගොයා



දඬුලේනා



ඉත්තෑවා



වවුලා



කලවැද්දා



කටුස්සා



සමනළයා



මුගටියා

**ක්‍රියාකාරකම 1.14**

ඔබ අවට පරිසරයේ ජීවත් වන සතුන්ගේ චර්යා අධ්‍යයනය කර සටහන් තබන්න. පහත දැක්වෙන්නේ එයට අදළ උදාහරණ කිහිපයකි. මේ සඳහා ඔබේ අභ්‍යාස පොත භාවිත කරන්න.

| අනු අංකය | සතුන් පිළිබඳ විස්තර | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|
| | සත්ත්වයා | වැඩිපුර ගැවසෙන ස්ථාන | තනි ව/රංචු වශයෙන් | ආහාර | සතුරන් | වැඩිපුර සක්‍රිය වන අවස්ථා | විශේෂ චර්යා | වෙනත් කරුණු |
| 01. | මීයා | අඳුරු මුලු | රංචු වශයෙන් හෝ තනිව | ධාන්‍ය, මාෂ භෝග, එළවළු, පලතුරු | බළලා, ගැරඬියා, නයා | රාත්‍රී කාලය | දත් ලියවා ගැනීම (ලෑටි ගෑම) | — |
| 02. | බළලා | ගෘහ ආශ්‍රිත ව | තනි ව හෝ රංචු වශයෙන් | බත්,පාන්, මාංශමය ආහාර | කබරගොයා | දිවා, රාත්‍රි | දිවෙන් ශරීරය පිරිසිදු කර ගැනීම | කුරුමානමට ඇති දක්ෂතාව |
| 03. | කුඹී | ගෘහ ආශ්‍රිත ව, පස්වල, ශාකවල | රංචු වශයෙන් | ශාක සහ මාංශ කොටස් | ඈයා (කබල්ලෑවා) | දිවා, රාත්‍රි | එකමුතු බව | වියළි කාලයේ ආහාර රැස් කිරීම |
| 04. | | | | | | | | |
| 05. | | | | | | | | |
| 06. | | | | | | | | |
| 07. | | | | | | | | |
| 08. | | | | | | | | |
| 09. | | | | | | | | |
| 10. | | | | | | | | |

## ගෙවතු හා පාසල් පරිසරයට ජීවීන්ගෙන් ඇති ප්‍රයෝජන

* වගාවට හානි පමුණුවන ජීවීන් පාලනය (තුලනය) කිරීම
  උදාහරණ :-. ඇටිකුකුළා, ගොළුබෙල්ලා ව ආහාරයට ගැනීම
* කොම්පෝස්ට් පොහොර සකස් කිරීම
  උදාහරණ :-. ක්ෂුද්‍ර ජීවීන්, කෘමි සතුන්
* පරාගනය කිරීම
  උදාහරණ :-. මී මැස්සා, සමනලයා
* බීජ හා ඵල ව්‍යාප්ත කිරීම
  උදාහරණ :-. පක්ෂීන්
* පස බුරුල් කිරීම
  උදාහරණ :-. ගැඩවිලා
* පරිසරය අලංකරණය වීම
  උදාහරණ :-. කුරුල්ලන්, සමනලුන්
* මිනිසාට ප්‍රයෝජනවත් නිෂ්පාදන සකස් කිරීම
  උදාහරණ :-. මී පැණි

## ගෙවත්තට එන අමුත්තන්ට සංග්‍රහ කරමු



ගෙවත්තට හා පාසල් වත්තට ජීවීන් අත්‍යවශ්‍ය බව දැන් ඔබට පැහැදිලි වන්නට ඇතැයි සිතමු. ඔවුන්ගේ දිවි පැවැත්මට හා වැඩීමට උපකාරී වන පරිසරයක් නිර්මාණය කිරීම අපට කළ හැකි යහපත් කාර්යයකි. එවැනි පරිසරයක නිර්මාණයක් කිරීමේ දී ඔවුන් ආකර්ෂණය කර ගැනීම මෙන් ම රඳවා තබා ගැනීම සඳහා විවිධ උපක්‍රම යොදා ගත හැකි ය. එවැනි උපක්‍රම කිහිපයක් පහත දක්වා ඇත.

- මයිනා, දෙමලිච්චා වැනි සතුන් ගෙවත්තට ගෙන්වා ගැනීම පිණිස කුරුලු නාන තටාක සකස් කිරීම






1.27 රූපය -. කුරුලු නාන තටාකයක්

> ⚠ **ප්‍රවේශම් වන්න**
> දින කිහිපයකට වරක් බුරුසුවකින් මෙම ජල තටාකය පිරිසිදු කර අලුත් වතුර දැමීමෙන් මදුරුවන් බෝ වීමෙන් ඇති වන අවදානම වළකා ගත හැකි ය.

- ලේනුන්, ගිරවුන් වැනි  සතුන් ගෙවත්තට ගෙන්වා ගැනීම පිණිස ආහාර බඳුන් සකස් කිරීම



- ගෙම්බන්, කටුස්සන් වැනි සතුන් සිටින තැන් නිරීක්ෂණය කර ගෙවත්තේ වගාබිම් ආසන්නයේ සුදුසු වාසස්ථාන තැනීම

උදාහරණ :-

- බිඳුණු වළං, කළ ආදී මැටි බඳුන් යටි අතට හරවා තැබීමෙන් ගෙම්බන් ගෙන්වා ගත හැකි ය.

- ලෑලිවලින් සකස් කරන ලද බඳුන් මුනින් අතට හරවා ගස්වල (අඩි 8-.10 පමණ උසකින්) සවි කිරීමෙන් කිරි වවුලන්ට වාසස්ථාන සැපයිය හැකි ය.



1.29 රූපය . කිරි වවුලන්ට වාසස්ථාන

- සතුන් ගෙන්වා ගැනීමට සුදුසු ශාක වර්ග වැවීම

උදාහරණ :-.

- වද - පැණි කුරුල්ලන්
- ජම්බු, පේර - කොහා, කොට්ටෝරුවා
- මලිත ශාක - පැණි කුරුල්ලන්
- බාලෝලියා - සමනලුන්



1.28 රූපය . බාලොලියා මල්

- ගෙවත්තේ සුදුසු ස්ථානවල ශාක ගොමු පිහිටුවීම

- ගෙවත්තේ සුදුසු ස්ථානවල මී මැසි ගෝචර ශාක සිටුවීමෙන් පරාගනය ඇති කළ හැකි ය.

උදාහරණ :-

- වුඩ්රෝස් -. මී මැස්සා

වගා කටයුතුවල දී අපේ මුතුන්මිත්තන් රසායනික පළිබෝධ නාශක යෙදුවේ නැත. ඔවුහු වගා බිම්වල ස්වාභාවික බව ආරක්ෂා කළහ. එමඟින් ඇති වූ වාසිය වගාවනට හානි කරන පළිබෝධ ස්වාභාවිකව ම පාලනය වීම ය. උදාහරණ ලෙස කුරුල්ලන් මගින් කෘමීන් පාලනය වීම, කටුස්සන් මගින් හංගොල්ලන් හා හංබෙල්ලන් පාලනය වීම, කලවැද්දන් මඟින් මීයන් පාලනය වීම, හෝතඹුවන් හා ඇටිකුකුළන් මාර්ගයෙන් ගොළුබෙල්ලන් පාලනය වීම ආදිය දැක්විය හැකි ය.

**ක්‍රියාකාරකම 1.15**

කෘත්‍රිම පළිබෝධ නාශක රහිත ව පළිබෝධ පාලනය කළ හැකි ක්‍රම පිළිබඳ ව විස්තර තව දුරටත් එකතු කරන්න. මේ සඳහා පුවත්පත්, සඟරා, විස්තර පත්‍රිකා, රූපවාහිනිය, ගුවන් විදුලිය හා අන්තර්ජාලය යොදා ගන්න. ඔබ සොයාගත් තොරතුරු පන්තියට ඉදිරිපත් කරන්න.

**02**

# තාක්ෂණික ක්ෂේත්‍රය ආහාර

## ගුණ නොනසා සුරකිමු අපි ආහාර

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,
- ආහාරවල ගුණාංග විස්තර කිරීමට
- මිල දී ගැනීමේ දී පරිභෝජනයට සුදුසු ආහාර තේරීමට
- තම නිවසේ පරිභෝජනය සඳහා ආහාර ආරක්ෂා කර තැබීමට

හැකියාවක් ලැබෙනු ඇත.

නිරෝගී බව උතුම් සැපතකි. ආහාර හා නිරෝගී සම්පන්න ජීවිතය අතර ඇත්තේ නොබිඳිය හැකි සබඳතාවකි.

### ආහාර යනු,

ශරීරයේ මනා වර්ධනය, ශරීරයට අවශ්‍ය ශක්තිය ලබා ගැනීම හා ශරීරයට ආරක්ෂාව සැපයීම සඳහා ඉවහල් වන පෝෂ්‍ය පදාර්ථ අඩංගු ශාකමය හෝ සත්ත්වමය වශයෙන් පවතින පරිභෝජනයට සුදුසු ද්‍රව්‍ය වේ.

### අප ගත යුතු ආහාර මොනවා ද ?

පහත දක්වා ඇති රූප සටහන හොඳින් නිරීක්ෂණය කරන්න. එය ආහාර පිරමීඩය වශයෙන් හඳුන්වනු ලැබේ.

දෛනික ව අප ලබා ගත යුතු ආහාර පිළිබඳ අදහසක් ඔබට ඉන් ලැබෙනු ඇත. මෙම ආහාර පිරමීඩය මගින් අප ආහාර වේලට ගන්නා විවිධ ආහාර කාණ්ඩ පෙන්නුම් කරයි. එමගින් පෝෂ්‍යදායි ආහාර වේලක් සඳහා ගත යුතු ඒ ඒ ආහාර කාණ්ඩවල ප්‍රමාණ ද දැක්වේ.




අප ගන්නා ආහාර පිළිබඳ සැලකිලිමත් වීම වැදගත් වන්නේ ඒවා,

1. ශරීරයේ මනා වර්ධනය ඇති කිරීමට
2. ශරීරයට ශක්තිය ලබාදීමට
3. ශරීරය ලෙඩ රෝගවලින් ආරක්ෂා කර ගැනීමට අවශ්‍ය වන බැවිනි.

එසේ ම එම ආහාරවලින් ශරීරයට අහිතකර බලපෑම් ඇති නොවීම ද ඉතා වැදගත් ය. නිරෝගී දිවි පෙවෙතකට ගුණාත්මක බවින් යුතු ආහාර අත්‍යවශ්‍ය වේ. පරිභෝජනයට ගන්නා තෙක් ආහාරවල ගුණාත්මකභාවය ආරක්ෂා කළ යුතු ය. ගොවි බිමෙන් අපට ආහාර නැවුම් සහ පිරිසිදු තත්ත්වයෙන් ලබා ගත හැකි වුව ද වගා නඩත්තුවේ දී, නෙළීමේ දී, ප්‍රවාහනයේ දී, ගබඩා කිරීමේ දී සහ ආහාර පරිභෝජනය සඳහා සුදුසු ලෙස සකස් කිරීමේ දී යන සෑම අවස්ථාවක දී ම ආහාරයේ ගුණාත්මකභාවයට හානි සිදු විය හැකි ය.

ආහාර තැළීම, පොඩිවීම, සිරීම, පැළීම වැනි හානි වළක්වා ගත හැකි අවස්ථා කිහිපයක් පහත සඳහන් වේ.


අස්වැන්න ලබා ගැනීම


ප්‍රවාහනය


ගබඩා කිරීම


සකස් කිරීම

වෙළෙඳපොළෙහි ඇතැම් ආහාර වර්ග ආහාරයට ගැනීමට සුදුසු සෞඛ්‍යාරක්ෂිත තත්ත්වයේ නොමැත. ගුණාත්මකභාවයෙන් ද අඩු ය. එසේ නම් ආහාරයට සුදුසු ගුණාත්මක බවින් පිරි ආහාර පිළිබඳ ව දැනුම්වත් වෙමින් වෙළෙඳපොළෙන් පරිභෝජනයට සුදුසු ආහාර තේරීම ඉතා වැදගත් ය.

ආහාර ගබඩා කිරීමේ දී අවධානය යොමු කළ යුතු කරුණු කිහිපයකි.

* ආහාර නරක් නොවන ලෙස ගබඩා කිරීම
* ආහාරයට නුසුදුසු ද්‍රව්‍ය හෝ කොටස් ඉවත් කිරීම
* පිරිසිදු ස්ථානවල ආහාර ගබඩා කිරීම
* ආහාරවලට හානි කරන කෘමින් හා වෙනත් සතුන්ගෙන් ආහාරවලට සිදුවන හානි වළක්වා ගැනීමට පියවර ගැනීම
* ඒ ඒ ආහාරයට උචිත උෂ්ණත්ව යටතේ ගබඩා කිරීම
* වාතාශ්‍රය සුදුසු පරිදි ලබා ගැනීම
* හිරු එළියෙන් ඇති විය හැකි හානි වළක්වා ගැනීම
* පහසුවෙන් තෝරා ගත හැකි වන පරිදි සෞඛ්‍යාරක්ෂිත ව ගබඩා කිරීම

වෙළෙඳපොළෙහි ගබඩා කර ඇති ආහාරවලින් පරිභෝජනයට සුදුසු ගුණාත්මක ආහාර තෝරා ගැනීමේ දී නැවුම් වූ ආහාර ම තෝරමු.

## නැවුම් ආහාර

නැවුම් ආහාරවල ගුණාත්මක ලක්ෂණ හඳුනා ගනිමු.




**ක්‍රියාකාරකම 2.1**

පහත සඳහන් රූප සටහන හොඳින් නිරීක්ෂණය කරන්න.



නිවසට ගෙවත්තෙන් හෝ වෙළෙඳපොළෙන් ගෙනෙන ලද ආහාර ද්‍රව්‍ය කිහිපයක් ඔබට එම රූප සටහන තුළින් දක ගත හැකි ය. ඒවා අතරින් ආහාර කිහිපයක් තෝරා ගෙන එහි අඩංගු ගුණාත්මක ලක්ෂණ පිරික්සමු. ඔබේ අභ්‍යාස පොතේ පහත සඳහන් වගුව සටහන් කර සම්පූර්ණ කරන්න.

| ආහාර කාණ්ඩය | ආහාර ද්‍රව්‍යය | ප්‍රධාන පෝෂක | සෞඛ්‍යාරක්ෂිත බව | වර්ණය | රසය | සුවඳ |
|---|---|---|---|---|---|---|
| 01. ධාන්‍ය | සහල් | කාබෝහයිඩ්‍රේට | හොඳින් ඇසුරුම් කර තිබීම ගුල්ලන්, පණු කැදලි වැනි දෑ නොතිබීම | ස්වාභාවික වර්ණය ආරක්ෂා වී තිබීම | සහල්වලට ආවේණික රසය වෙනස් වී නොතිබීම | සහල්වලට ආවේණික සුවඳින් යුක්ත වීම |
| 02. | | | | | | |
| 03. | | | | | | |

**සැකසූ ආහාර**

වෙළෙඳපොළෙහි ඇති සැකසූ ආහාර පිළිබඳ සොයා බලමු




2.1 රූපය . සැකසූ ආහාර

ඉහත පින්තූරයේ දක්වා ඇති ආහාර හඳුනාගන්න.

මේවා ස්වාභාවික ද්‍රව්‍ය උපයෝගී කරගෙන සකස් කරනු ලැබූ ඒවා බව ඔබට පැහැදිලි වනු ඇත. මෙම ආහාර සකස් කිරීම සඳහා විවිධ ක්‍රම යොදා ගෙන ඇත. විවිධ ක්‍රම යොදා ගනිමින් ස්වාභාවික ආහාර වෙනත් ස්වභාවයකින් යුක්ත ආහාර බවට පත් කරනු ලබයි. එවැනි ආහාර සැකසූ ආහාර ලෙස හඳුන්වයි.

උදාහරණ :-.
- නූඩ්ල්ස් සැකසීමේ දී තිරිඟු පිටි, හාල් පිටි වැනි දේ භාවිතකර සකස් කරනු ලබයි. මෙය නැවත පිසීමට ලක් කර ආහාරයට ගත යුතු වේ.
- ජෑම් පලතුරු භාවිතයෙන් සකස් කර ඇති අතර සෘජුව ම ආහාරයට ගත හැකි ය.

සැකසූ ආහාරවලින් සැලසෙන වාසි

- පිළියෙල කිරීම පහසු වීම
- රැගෙන යාම පහසු වීම
- ගබඩා කිරීම පහසු වීම
- ආහාරවල විවිධත්වයක් ඇති වීම

එහෙත් සැකසූ ආහාරවල අඩංගු කර තිබෙන්නේ අනුමත පරිරක්ෂක කාරක, වර්ණ කාරක සහ රසකාරක වැනි ආකලන දැයි මිලදී ගැනීමේ දී සැලකිලිමත් විය යුතු ය.

## වෙළෙඳපොළෙන් ආහාර තේරීමේ දී ගුණාත්මක බවින් යුතු ආහාර තෝරමු

එදිනෙදා පරිභෝජනය සඳහා වෙළෙඳපොළෙන් ආහාර තෝරා ගැනීමේ දී ඒවායේ ගුණාත්මක බව සැලකිල්ලට ගැනීම ඉතා වැදගත් වේ. එවැනි ආහාර කිහිපයක ගුණාත්මක ලක්ෂණ ඔබ හඳුනාගෙන ඇත. එම ලක්ෂණ ද සැලකිල්ලට ගෙන ගුණාත්මක ආහාර තෝරා ගැනීමට යොමු වෙමු.

### ධාන්‍ය හා මාෂ බෝග

පාහින ලද සහල්වලට වඩා නොපාහින ලද සහල්වල පෝෂණ ගුණය වැඩි ය. වී තැම්බීමේ දී සහල්වල විශේෂයෙන් විටමින $B_1$ සහල් ඇටයට උරාගෙන ඇති නිසා එම සහල් පෝෂණ ගුණයෙන් වැඩි ය.

ගුල්ලන්, පණුවන්, පණු කැදලි සහ සිදුරු සහිත අවපැහැ ගැන්වුණු, කල් ඉකුත් වූ ධාන්‍ය හා මාෂ බෝගවල ගුණාත්මකභාවය අඩු බැවින් මිල දී ගැනීමෙන් වැළකිය යුතු ය.



ධාන්‍ය හා මාෂ බෝග

### පලතුරු, එළවළු, අල වර්ග සහ පලා වර්ග



පලතුරු, එළවළු, අල, පලා වර්ග

එළවළු, පලා වර්ග, පලතුරු සහ අල වර්ගවල ඇති විටමින් සහ ඛනිජ වර්ග ආරක්ෂාකාරී ව ශරීරයට ලබා ගැනීමට නම් ඒවා නැවුම් බවින් යුක්ත විය යුතු ය.

දිනකට එළවළු හා පලතුරුවලින් අවම වශයෙන් වර්ග පහක් ආහාරයට ගැනීම නිරෝගී දිවි පෙවෙතකට මග පාදයි.

එළවළු, පලා වර්ග, පලතුරු සහ අල වර්ග ගෙවත්තෙන් ලබා ගැනීම හෝ වෙළෙඳපොළෙන් මිල දී ගැනීමේ දී පිරිසිදු ස්ථානවලින් ඒවා ලබා ගත යුතු අතර තැලුණු, කැපුණු වෙනත් සතුන්ගෙන් හානි නොවූ ඒවා තෝරා ගත යුතු ය.

### මස් හා මාළු වර්ග



මාළු වර්ග

දීප්තිමත් ඇස්, කොරපොතු සහ රතු පැහැති කරමල් සහිත මාළු අලුත් බවින් යුතු නිසා ඒවායේ පෝෂණ ගුණය ආරක්ෂා වී ඇත. මතුපිට එබෙන සුලු නොවී තද වයනයකින් යුක්ත වීම ද අලුත් මාළුවල ලක්ෂණයකි. කරවල තෝරා ගැනීමේ දී අධික ලුණු දමන ලද හා සුදු පුස් සහිත අප්‍රසන්න ගන්ධයකින් හා තෙත ගතියෙන් යුත් කරවල තෝරා ගැනීමෙන් වළකින්න.

හාල්මැස්සන්, සාලයන්, හුරුල්ලන් වැනි කුඩා මාළු බැද කටුත් සමඟ ආහාරයට ගැනීමෙන් කැල්සියම් වැනි පෝෂක බහුල ව ලබා ගත හැකි ය. මස් මිල දී ගැනීමේ දී අලුත් මස් තෝරා ගැනීමට සැලකිලිමත් විය යුතු ය.

### බිත්තර

බරින් වැඩි බිත්තර අලුත් බවින් යුක්ත ය. එහි පෝෂණ ගුණය ආරක්ෂා වී ඇත. කිකිළි බිත්තරවල කටුවේ අළු පාටට හුරු තිත් හෝ ලප ඇත්නම් එවා නරක් වූ බිත්තර ය.



බිත්තර

### කිරි හා කිරි ආහාර

පිටිකිරිවලට වඩා නැවුම් කිරි ස්වාභාවික පෝෂ්‍ය පදාර්ථවලින් යුක්ත බැවින් සකස් කළ පිටිකිරිවලට වඩා ස්වාභාවික නැවුම් කිරි භාවිත කිරීම වඩා වැදගත් ය. කල් තබා ගන්නා ලද කිරි, මුදවපු කිරි, යෝගට් වැනි කිරි ආහාර ඉක්මණින් නරක් වන බැවින් මිල දී ගැනීමට ප්‍රථම ඒවා ශීතකරණයක නිවැරදි ලෙස ගබඩා කර තිබේ දැයි විමසිලිමත් විය යුතු ය. එසේ ම වෙළෙඳපොළෙන් මිල දී ගැනීමේ දී නිෂ්පාදිත දිනය, කල් ඉකුත් වූ දිනය ගැන ද සැලකිලිමත් විය යුතු ය.



නැවුම් කිරි වීදුරුවක්
මුදවපු කිරි හට්ටියක්

### ඇසුරුම් කළ ආහාර

ආහාර කිහිපයක් වෙළඳපොළට ඉදිරිපත් කර ඇති ආකාරය ඔබට පින්තූරයෙන් නිරීක්ෂණය කළ හැකි ය. ඒවා විවිධ ඇසුරුම් තුළ බහා ඇත.

උදාහරණ :. ටින්, වීදුරු, පොලිතින්



ඇසුරුම් කළ ආහාර

ඇසුරුම් කළ ආහාර වෙළෙඳපොළෙන් මිල දී ගැනීමේ දී පහත සඳහන් කරුණු පිළිබඳ ව අවධානය යොමු කිරීම වැදගත් ය.

* ආහාරය සඳහා සුදුසු ඇසුරුමක් භාවිත කර තිබීම
* ටින් කරන ලද ආහාර මිල දී ගැනීමේ දී නොතැළුණු, මලනොබැඳුණු, පිම්බීමකට ලක් නොවූ, සිදුරු රහිත ඇසුරුමක් දැයි සැලකිලිමත් වීම
* ඇසුරුමෙහි ඇති ලේබලය හොඳින් නිරීක්ෂණය කිරීම

ඇසුරුම් කළ ආහාරවල පාරිභෝගිකයා තුළ විශ්වාසය ඇති කිරීම සඳහා ඇසුරුමෙහි බාහිර ව දැකගත හැකි පරිදි ලේබලයක් අලවා ඇත. ආහාරය පිළිබඳ නිවැරදි තොරතුරු පාරිභෝගිකයා වෙත සන්නිවේදනය සඳහා ලේබලය ඉතා වැදගත් වේ.




ඉහත සඳහන් ලේබලය හොඳින් අධ්‍යයනය කරන්න. ඒ අනුව ලේබලයක අඩංගු විය යුතු  කරුණු හඳුනා ගන්න.

* ආහාර ද්‍රව්‍යයේ නම
* අන්තර්ගත ද්‍රව්‍ය
* අඩංගු බර ප්‍රමාණය
* නිෂ්පාදිත ආයතනය
* ඇසුරුම් කළ/ නිෂ්පාදිත දිනය
* කල් ඉකුත් වීමේ දිනය
* විවිධ ප්‍රමිති සහතික
* මිල
* පෝෂණ තොරතුරු
* භාවිත කිරීම පිළිබඳ උපදෙස්

**ක්‍රියාකාරකම 2.2**

වෙළෙඳපොළෙන් ගෙන එන ලද ඇසුරුම් කළ ආහාර කිහිපයක ලේබල් පරීක්ෂා කර එහි අඩංගු තොරතුරු සටහන් කරන්න.

| තොරතුරු | පොලිප්‍රොපිලීන් ඇසුරුමක ලේබලයක් | වීදුරු ඇසුරුමක ලේබලයක් | ප්ලාස්ටික් ඇසුරුමක ලේබලයක් |
|---|---|---|---|
| ආහාර ද්‍රව්‍යයේ නම | | | |
| අඩංගු බර ප්‍රමාණය | | | |
| | | | |

ගෙවත්තෙන් හෝ වෙළෙඳපොළෙන් මිල දී ගෙන නිවසට ගෙනෙන ලද ආහාර, ප්‍රයෝජනයට ගන්නා තෙක්, ආරක්ෂා වන පරිදි ගබඩා කිරීමෙන් ආහාරවල ගුණාත්මකභාවය ආරක්ෂා කර ගත හැකි ය.

ගෙවත්තෙන් හෝ වෙළෙඳපොළෙන් ලබා ගත් ආහාර

*** පිරිසිදු කිරීම * නිවැරදි ව ඇසුරුම් කිරීම * සුදුසු පරිදි ගබඩා කිරීම**

මගින් ඒවායේ ගුණාත්මකභාවය ආරක්ෂා කර ගත හැකි ය.

නිවසට ගෙන එන ලද ඇතැම් ආහාර පරිභෝජනයට ගන්නා තෙක් සුරක්ෂිත ව තබා ගැනීමට ගත යුතු ක්‍රියාමාර්ග කිහිපයක් හඳුනා ගනිමු.

- සහල් ගබඩා කර තබන විට ගුල්ලන් වැනි කෘමින්ගෙන් ආරක්ෂා කර ගැනීමට දෙහි, මැල්ල හෝ කොහොඹ වැනි ශාකවල කොළ සහල් අතරට දමා වියළි ස්ථානයක ගබඩා කිරීම
- මිල දී ගත් කුළු බඩු අවශ්‍ය ලෙස සකස් කොට බෝතල්වල අසුරා හොඳින් පියන වසා තැබීම
- එළවළු සහ පලතුරු හොඳින් පිරිසිදු කර වාතාශ්‍රය ලැබෙන සිසිල් පරිසරයක හෝ ශීතකරණයක් තුළ ගබඩා කිරීම
- අර්තාපල්, ළූණු වැනි ද්‍රව්‍ය ගබඩා කිරීමේ දී වාතය හොඳින් ලැබෙන සේ වියළි ස්ථානයක වෙන වෙන ම තුනී කර අතුරා තැබීම
- පලා වර්ග පිරිසිදු කර වතුර ස්වල්පයක් ඉස භාජනයක බහා තැබීම හෝ කඩදාසියක ඔතා ශීතකරණයක් තුළ නිවැරදි ව ගබඩා කිරීම
- ගෙවත්තෙන් නෙළා ගන්නා ලද හෝ වෙළෙඳපොළෙන් දෙහි වැඩිපුර මිල දී ගන්නා ලද අවස්ථාවක දෙහි, හොඳින් වියළා ගත් වැලි යට දැමීමෙන් දිගු කාලයක් තබා ගත හැකි ය
- මාළු සහ මස් පිරිසිදු කර, එදිනෙදා අවශ්‍ය පමණට වෙන් කර, හොඳින් ඇසුරුම් කර අධිශීතකරණයෙහි ගබඩා කිරීම
- කරවල කුරියකු ලෙස මිල දී ගත් අවස්ථාවක ඝන කඩදාසියක ඔතා මුළුතැන්ගෙයි දුමෙහි එල්ලා තැබීම. එසේ නොමැති නම් වියළි ස්ථානයක ගබඩා කර තැබීම

**ආහාර ආරක්ෂා කරමු. නාස්තිය වළකාලමු.**

# මුළුතැන්ගෙයි පිළිවෙළ, රැකදෙයි අහරේ රස ගුණ

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- ගුණාත්මක ව ආහාර පිළියෙල කිරීම සඳහා මුළුතැන්ගෙය සැලසුම් කිරීමට
- ගුණාත්මක ආහාර පරිභෝජනය සඳහා මුළුතැන්ගෙය පවිත්‍ර ව කාර්යක්ෂම ව පවත්වාගෙන යාමට
- වදන් සැකසුම් මෘදුකාංගය ආධාරයෙන් ලේබල් පිළියෙල කිරීමට

හැකියාව ලැබෙනු ඇත.

පිළියෙල කරනු ලබන ආහාරයෙහි ගුණාත්මක බව ආරක්ෂා කර ගැනීමට, එම ආහාර පිළියෙල කරන ස්ථානය වන මුළුතැන්ගෙය ඉතා වැදගත් වේ. ගෙවත්තෙන් හෝ වෙළෙඳපොළෙන් ආහාර නිවසට රැගෙන එන මොහොතේ සිට ආහාර අනුභව කරන තෙක් එහි ගුණාත්මකභාවය ආරක්ෂා කර ගත යුතු ය.

මෙහි දී,

- ආහාර සෞඛ්‍යාරක්ෂිත ව තබා ගැනීම
- ආහාර වේලට අවශ්‍ය පරිදි ආහාර තෝරා ගැනීම
- තෝරාගත් ආහාර නිසියාකාර ව (පිළියෙල) කිරීම
- ආහාර පිසීම
- ආහාර පිළිගැන්වීම

යන කරුණු ඉතා වැදගත් වේ.

මේවා ඉටු කෙරෙන ආකාරයට මුළුතැන්ගෙය සැලසුම් සහගත ව සංවිධානය කර ගැනීම ඉතා වැදගත් ය.

ආරක්ෂිත ව ආහාර පිළියෙල කර ගත හැකි, ක්‍රමානුකූල වූ, ප්‍රිය මනාප වූ, පිරිසිදු ස්ථානයක් සේ, සැලසුම් සහගත ව මුළුතැන්ගෙය පවත්වාගෙන යාමෙන් නිවැසියන්ගේ නිරෝගීභාවය ආරක්ෂා කර ගත හැකි වේ. මුළුතැන්ගෙය ක්‍රමවත් වීමෙන් පහසුවෙන් සහ ඉක්මනින් එහි කාර්යයන් සිදු කළ හැකි වේ. එමගින් කාලය හා ශ්‍රමය ඉතිරි කර ගත හැකි වේ.

**සැලසුම් සහගත මුළුතැන්ගෙයක ක්‍රමානුකූල ව වැඩ කිරීමේ දී අත් වන වාසි**

- වැඩ කිරීමේ පහසුව
- අධික වෙහෙසට පත් නොවීම
- කාලය ඉතිරි වීම
- පවුලේ සියලු දෙනා ම එක් ව සතුටින් වැඩ කිරීම
- නිවැසියන්ගේ සෞඛ්‍ය ආරක්ෂා වීම
- ස්ථානය පිරිසිදු කිරීම සහ යථාවත් කිරීම පහසු වීම

පරිභෝජනය සඳහා ආහාර පිළියෙල කිරීම, මුළුතැන්ගෙයක සිදු වන වැදගත් කාර්යයකි. නිරෝගී දිවි පෙවෙතක් සඳහා ගුණාත්මක ආහාර සැකසීමේ දී පහත සඳහන් කරුණු කෙරෙහි විශේෂ අවධානයක් යොමු කළ යුතු ය.

1. පුද්ගල පවිත්‍රතාව
2. මුළුතැන්ගෙයි පවිත්‍රතාව (මුළුතැන්ගෙයි පවිත්‍රතාව නිසා කෘමි හා වෙනත් සතුන්ගෙන් වන හානි ද පාලනය කර ගත හැකි ය).
3. මුළුතැන්ගෙයි ආම්පන්නවල පවිත්‍රතාව (පිසීමේ ආම්පන්න හා උපකරණවල පවිත්‍රතාව)

## ක්‍රමවත් මුළුතැන්ගෙයක ලක්ෂණ

1. කාමරයේ ඉඩකඩ අනුව ඒකක වෙන් කිරීම
2. එම ඒකක අනුපිළිවෙළින් වමේ සිට දකුණට ස්ථාන ගත කර තිබීම
3. වාතාශ්‍රය සහ ආලෝකය හොඳින් ලැබීම
4. ඒකකවලට අදාළ උපකරණ සහ ආම්පන්න ඒ ඒ ස්ථානවල පහසුවෙන් ගත හැකි පරිදි පිළිවෙළකට තිබීම
5. කුළුබඩු, සීනි සහ තේකොළ වැනි ද්‍රව්‍ය ඇසුරුම්වල බහා ලේබල් කර නිසියාකාර ව ගබඩා කිරීම
6. ක්‍රමවත් ජල සැපයුමක් සහ විදුලිය සැපයුමක් තිබීම
7. ජනේලය අසල සේදීමේ ඒකකය ස්ථාන ගත කිරීම
8. උපකරණ සහ ආම්පන්න පවිත්‍ර ව තිබීම
9. කෘමි හා වෙනත් සතුන්ගෙන් වන හානි පාලනය කර තිබීම
10. වැඩ පහසුවෙන් කර ගැනීමට හැකි වන පරිදි කාර්ය ඒකකවල උස සකස් කර තිබීම
11. මුළුතැන්ගෙයි පවිත්‍රතාව ආරක්ෂා වී තිබීම
12. කායික හා මානසික වෙහෙස මඟ හැරෙන පරිදි මුළුතැන්ගෙය අලංකාර ව සකස් කර තිබීම

**ක්‍රියාකාරකම 2.3**

මුළුතැන්ගෙයි කාර්යයන් කාර්යක්ෂමතාව වැඩි කර ගැනීමට ඔබට කළ හැකි කාර්යයන් අභ්‍යාස පොතේ සටහන් කර එය පන්තියට ඉදිරිපත් කරන්න.

**ක්‍රියාකාරකම 2.4**

(i). ඔබගේ නිවසෙහි මුළුතැන්ගෙය තුළ සිදු කරන කාර්යයන් පෙළ ගස්වන්න.

(ii). එම කාර්යයන් පහත සඳහන් වගුවේ අදාළ පරිදි සටහන් කරන්න.

| ආහාර ගබඩා කිරීමේ ඒකකය |
|---|
| |
| |

| ආහාර පිසීමට පෙර සකස් කිරීමේ ඒකකය |
|---|
| |
| |

| ආහාර පිසීමේ ඒකකය |
|---|
| |
| |

(iii). මුළුතැන්ගෙයි ඒකකවලට අදාළ කාර්යයන් සිදු කිරීමට අවශ්‍ය ආම්පන්න සහ උපකරණ ලැයිස්තු ගත කරන්න.

| ගබඩා කිරීමේ ඒකකයට අදාළ ආම්පන්න හා උපකරණ |
|---|
| |
| |

| ආහාර පිසීමට පෙර සකස් කිරීමේ ඒකකයට අදාළ මුළුතැන්ගෙයි ආම්පන්න හා උපකරණ |
|---|
| |
| |

| ආහාර පිසීමේ ඒකකයට අදාළ පිසීමේ ආම්පන්න හා උපකරණ |
|---|
| |
| |

මුළුතැන්ගෙයි වැඩ ඒකක සංවිධානය කිරීමේ දී ආහාර ගබඩා කිරීම, ආහාර පිසීමට පෙර සකස් කිරීම සහ ආහාර පිසීම යන කාර්යයන් කාර්යක්ෂම ව කර ගැනීමට පහසු වන ලෙස ක්‍රමවත් ව ස්ථානගත කළ යුතු ය. ක්‍රමවත් ව ඒකක ස්ථානගත කිරීමෙන් කුඩා මුළුතැන්ගෙයක මෙන් ම විශාල පිරිසකට ආහාර සපයන අවන්හල්වල මුළුතැන්ගෙයක වුව ද අදාළ සියලු කාර්යයන් කාර්යක්ෂම ලෙස ඉටු කර ගත හැකි ය.

**මුළුතැන්ගෙයි වැඩ කටයුතු ක්‍රමවත් ව හා කාර්යක්ෂම ව කර ගැනීම සඳහා ඒකක පහත සඳහන් පරිදි සංවිධානය කරමු.**

## ගබඩා කිරීමේ ඒකකය



2.2 රූපය . ගබඩා කිරීමේ ඒකකය

- සුදුසු ඇසුරුම් උපයෝගී කරගෙන ආහාර ද්‍රව්‍ය ගබඩා කිරීම
- ඇසුරුම්වල අඩංගු ද්‍රව්‍ය නිවැරදි ව හඳුනා ගැනීමට සහ තෝරා ගැනීමට පහසු වන පරිදි ලේබල් කිරීම
- නිතර පාවිච්චියට ගන්නා ආහාර ද්‍රව්‍ය හා බඳුන් පහසුවෙන් ගැනීමට හැකි වන පරිදි ගබඩා කිරීම
- නිවැරදි ක්‍රම උපයෝගී කර ගනිමින් ශීතකරණය තුළ ක්‍රමවත් ව ආහාර ද්‍රව්‍ය ගබඩා කිරීම

මෙම පරිච්ඡේදය අවසානයේ වදන් සැකසුම් මෘදුකාංගය ආධාරයෙන් ලේබලයක් සකස් කිරීමට ඔබට අවස්ථාවක් ලැබෙනු ඇත.

## ආහාර පිසීමට පෙර සකස් කිරීමේ ඒකකය



2.3 රූපය . ආහාර පිසීමට පෙර සකස් කිරීමේ ඒකකය

- සේදුම් බක්කිය (sink) ජනේලය අසල ස්ථාන ගත කිරීම
    - එදිනෙදා භාවිතා වන කුළුබඩු ඇසුරුම් ලේබල් කර ක්‍රමවත් ව රාක්කවල අසුරා තැබීම
    - ආහාර පිළියෙල කිරීමට අවශ්‍ය ආම්පන්න සහ උපකරණ පහසුවෙන් ගැනීමට හැකි වන පරිදි ආරක්ෂිත ව අසුරා තැබීම
    - ආහාර පිළියෙල කිරීමට හා පිසීමට යොදා ගන්නා බඳුන් ක්‍රමවත් ව අසුරා තැබීම
    - ඉවත ලන ද්‍රව්‍ය දැමීම සඳහා සුදුසු බඳුනක් තැබීම

## ආහාර පිසීමේ ඒකකය

- ස්වාභාවික ආලෝකය හොඳින් ලැබෙන ස්ථානයක ආහාර පිසීම සඳහා උඳුන් තබා ගැනීම
- පිසූ ආහාර බඳුන් තැබීමට ස්ථානයක් වෙන් කිරීම සහ එම ස්ථානයේ මේස දරණු තබා ගැනීම
- රත් වූ බඳුන් අල්ලා ගැනීම සඳහා දලිකඩ සුදුසු පරිදි තබා ගැනීම
- පිසීම සඳහා භාවිත කරන ස්ථානයේ හැඳි රඳවනයක හැඳි රඳවා තැබීම



සාම්ප්‍රදායික මුළුතැන්ගෙයක්



නවීන මුළුතැන්ගෙයක්

2.4 රූපය . ආහාර පිසීමේ ඒකකය

ඉඩකඩ සහිත මුළුතැන්ගෙයක නම් ආහාර පිළිගැන්වීම සඳහා කොටසක් ඒ තුළ ම වෙන් කර ගැනීම සිදු කළ හැකි ය. එම ස්ථානයේ පහත සඳහන් භාණ්ඩ හා උපකරණ තබා ගැනීම සුදුසු ය.

- ආහාර ගැනීම සඳහා සුදුසු මේසයක්
- පුටු
- පිඟන් රාක්කය
- ආහාර පිළිගන්වන බඳුන්
- ආහාර වසා තැබීමට ආවරණයක්
- අත්පිස්නා
- අලංකරණයට පලතුරු බඳුනක් හෝ මල් බඳුනක්



2.5 රූපය . ආහාර පිළිගැන්වීමේ ඒකකය

මුළුතැන්ගෙයි ප්‍රමාණය හා ඉඩකඩ අනුව වැඩ කරන ඒකක ස්ථානගත කිරීම සඳහා සැලසුම් කළ යුතු ය. මුළුතැන්ගෙය සැලසුම් කිරීමේ දී සැලකිලිමත් විය යුතු වැදගත් කරුණු කිහිපයකි.

* මුළුතැන්ගෙය සඳහා වෙන් කර ඇති ඉඩ ප්‍රමාණය
* එහි දොර, ජනෙල් පිහිටා ඇති ස්ථානය
* මුළුතැන්ගෙට ආලෝකය හා වාතාශ්‍රය ලැබෙන ක්‍රම (ස්වාභාවික හා කෘත්‍රිම)
* ජනේලය පිහිටා ඇති ස්ථානයේ සේදුම් බක්කිය ස්ථානගත කිරීම

මුළුතැන්ගෙය සඳහා සැලසුමක් ඇඳීමට අවශ්‍ය කරන සංකේත හඳුනා ගනිමු.

| භාවිත කරන සංකේතය | භාවිතය |
|---|---|
|  | බිත්ති |
|  | ජනේල |
|  | දොර |
|  | ආහාර ගබඩා කිරීමේ ඒකකය |
|  | ආහාර පිසීමට පෙර සැකසීමේ ඒකකය |
|  | ආහාර පිසීමේ ඒකකය |

මුළුතැන්ගෙය සඳහා වෙන් කර ඇති ඉඩ ප්‍රමාණය අනුව එහි කාර්ය ඒකක ස්ථානගත කරන ආකාරය (හැඩය) තීරණය වේ.

මුළුතැන්ගෙයි පවතින ඉඩකඩ අනුව කුමන හැඩය තීරණය කළ ද කාර්ය ඒකක තුනක් පිළිබඳ විශේෂයෙන් අවධානය යොමු කළ යුතු ය. වැඩ ත්‍රිකෝණය ලෙස හඳුන්වනු ලබන්නේ ද මෙම කාර්ය ඒකක තුන ය.

1. ගබඩා කිරීමේ ඒකකය
2. ආහාර පිසීමට පෙර සැකසීමේ ඒකකය
3. පිසීමේ ඒකකය

මුළුතැන්ගෙය තුළ මෙම කාර්ය ඒකක වමේ සිට දකුණට ගලා යන ආකාරයට ස්ථානගත කළ යුතු ය.

මුළුතැන්ගෙයි පවතින ඉඩකඩ අනුව කාර්ය ඒකක ස්ථානගත කර ඇති ආකාරය පහත රූප සටහන් නිරීක්ෂණය කිරීමෙන් හඳුනා ගන්න.




2.6 රූපය -
I හැඩයේ මුළුතැන්ගෙය

සීමිත ඉඩකඩ ඇති ස්ථානයක කාර්ය ඒකක ස්ථානගත කර ඇති ආකාරය




2.7 රූපය -
L හැඩයේ මුළුතැන්ගෙය

මධ්‍යස්ථ ඉඩ ප්‍රමාණයක කාර්ය ඒකක ස්ථාන ගත කර ඇති ආකාරය




2.8 - රූපය
U හැඩයේ මුළුතැන්ගෙය

වැඩි ඉඩ ප්‍රමාණයක් ඇති ස්ථානයක කාර්ය ඒකක ස්ථානගත කර ඇති ආකාරය

**සැලසුම් සහගත ව කටයුතු කරමු.**
**කාර්යක්ෂමතාව වැඩි කර ගනිමු.**

**ක්‍රියාකාරකම 2.5**

සීමිත ඉඩකඩ ප්‍රමාණයකට සුදුසු මුළුතැන්ගෙයක් සඳහා බිම් සැලැස්මක් ඇඳ ඒ තුළ ඒකක ස්ථානගත කරන ආකාරය අඳින්න.

## වදන් සැකසුම් මෘදුකාංගය ආධාරයෙන් ලේබල් පිළියෙල කරමු

පාරිභෝගිකයාට සැකසූ ආහාරය පිළිබඳ නිවැරදි තොරතුරු ලබා ගැනීමට ලේබලය ඉතා වැදගත් බව ඔබ දන්නා කරුණකි.

වෙළෙඳපොළෙන් ගෙන එන ලද ඇසුරුම් කළ ආහාර කිහිපයක ලේබල් හොඳින් පරීක්ෂා කර බලන්න.

එම ලේබල්වල ආකර්ෂණීය බව රැක ගැනීමට යොදා ගෙන ඇති උපක්‍රම හොඳින් නිරීක්ෂණය කරන්න. මේ පිළිබඳ ව ඔබගේ ගුරුතුමා /ගුරුතුමිය හෝ වැඩිහිටියන්ගෙන් උපදෙස් ලබා ගන්න.

### ලේබලයක් පිළියෙල කිරීම

ලේබලයක් සකස් කිරීමේ ක්‍රම වශයෙන්

* වර්ණ පෑන්වලින් අතින් ලිවීම
* අදාළ රූප ඇඳීම හෝ ඇලවීම
* මුද්‍රණය කරන ලද රූප ඇලවීම

**ක්‍රියාකාරකම 2.6**

(i). වර්ණ පෑන්, වර්ණ කඩදාසි රූප භාවිතයෙන් ආකර්ෂණීය ලේබලයක් පිළියෙල කරන්න.

(ii). පරිගණක පහසුකම් ඇත්නම් මෘදුකාංග ආධාරයෙන් ලේබලයක් පිළියෙල කරන්න.

ඔබ පාසලේ හෝ නිවසේ පරිගණක පහසුකම් ඇත්නම් වදන් සැකසුම් මෘදුකාංගය විවෘත කර පහත සඳහන් ක්‍රියාකාරකමෙහි නියැලෙන්න.

මේ සඳහා වදන් සැකසුම් මෘදුකාංග උපකාර කර ගත හැකි ය. ඒවා නම්,

Microsoft Office Word
LibreOffice Writer

පාසල් පරිගණක විද්‍යාගාරවල භාවිත වන පරිගණක මෙහෙයුම් පද්ධතිය (Operating System) වූ ඉසුරු ලිනක්ස්හි (Isuru Linux) ඇති LibreOffice Writer වදන් සැකසුම් මෘදුකාංගය භාවිත කරමු.

පරිගණකය ක්‍රියාත්මක කළ විට එම මෙහෙයුම් පද්ධතියේ තිරය මෙලෙස දැක්විය හැකි ය.



1 Dash Home
2 Home Folder
3 LibreOffice Calc
4 LibreOffice Writer
5 LibreOffice Impress

ලේඛලය සකස් කිරීම ආරම්භ කිරීමට සුදුසු වදන් සැකසුම් මෘදුකාංගය විවෘත කර ගැනීමට 'LibreOffice Writer' මෘදුකාංගයට පිවිසීම සඳහා හෙවත් 'Dash Home' නිරූපකය (icon) මත ක්ලික් (click) කිරීමෙන් ලැබෙන සෙවුම් තීරුවේ 'Writer' මත යතුරු ලියනය (Type) කිරීමෙන් හෝ නිරූපකය මත ක්ලික් කිරීමෙන් 'LibreOffice Writer' මෘදුකාංගයට පිවිසිය හැකි ය. එම මෘදුකාංගය විවෘත වූ විට ලැබෙන අතුරු මුහුණත පහත දැක්වේ.



1 Menu Bar
2 Standard Tool Bar
3 Formatting Tool Bar
4 Drawing Tool Bar

සම්මත මෙවලම් තීරුව (Standard Tool Bar)




හැඩසව් මෙවලම් තීරුව (Formatting Tool Bar)




ඉහත හඳුනාගත් මෙවලම් තීරු (Tool Bar) මත මූසිකය (mouse) රඳවා ගෙන සිටින විට (Tool Tip) කොටුව මතු වේ. එයින් නිරූපකයේ නම සොයා ගත හැකි ය.

**ක්‍රියාකාරකම 2.7**

(i). ලේබලය සඳහා 'Text' නිරූපකය මත ක්ලික් කර කොටුවක් ඇඳ ගන්න. ඇඳ ගත් කොටුව තුළ යතුරුපුවරුව (Key Board) ආධාරයෙන් ලේබලයේ නම යතුරුලියනය කරන්න.

(ii). එහි කුළුබඩු නාමය භාෂා තුනෙන් ම යතුරුලියනය කරන්න.

යතුරුලියනය කළ අකුරු තෝරා ගන්න (Select). ඉන්පසු පහත විධානයන් භාවිත කරමින් වෙනස්කම් කරන්න.




| | |
|---|---|
| අකුරු ප්‍රමාණය වෙනස් කිරීම | ( Font Size) |
| අකුරු වර්ණ ගැන්වීම | ( Font Color ) |
| අකුරු විලාසය | ( Font Style ) |
| අකුරු පෙළ ගැසීම | ( Font Alignment) |

නිර්මාණය කරන ලද ලේබලයට රූප එක් කිරීමට අවශ්‍ය නම්,

'Insert → Picture → From File → Select Picture → Enter'

නිර්මාණය කරන ලද ලේබලය මුද්‍රණය කර ගැනීම

'File → Print → Enter'

මගින් සිදු කළ හැකි ය.

ඔබ විසින් නිර්මාණය කරන ලද ලේබලයේ මුද්‍රිත පිටපතක් (Print Out) ලබා ගෙන ලේබලයේ වටේට ඇති අනවශ්‍ය කොටස් කපා ඉවත් කර අලංකාර ලෙස සකස් කර ගත් ලේබලය අදාළ බඳුනේ අලවා ගන්න.

# ක්‍රම සරලයි ඵල විපුලයි සුරකෙයි ආහාර

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- වාරික ආහාර රැස් කිරීමේ පැරණි ක්‍රම අත්හදා බැලීමට
- සරල තාක්ෂණික ශිල්ප ක්‍රම යොදා ගනිමින් වාරික ආහාර රැස් කිරීමට
- ආහාර නාස්ති වීම අවම කිරීමට

හැකියාව ලැබෙනු ඇත.

ගෙවත්තේ වගා කරන ලද ආහාර බෝගවල අතිරික්තයක් ඇති වූ විට ඒවා පරිභෝජනයට ගැනීමට සුදුසු පරිදි ආරක්ෂා කර ගැනීමට සරල තාක්ෂණික ක්‍රම භාවිත වේ.

මෙසේ ආහාර රැස් කර තබා ගැනීමෙන්,

- අවාරයේ දී ප්‍රයෝජනයට ගැනීමටත්,
- ආර්ථික වාසි ලබා ගැනීමටත්,
- ආහාරයේ විවිධත්වයක් ඇති කර ගැනීමටත්, හැකි වේ.



2.9 රූපය . වියළි ආහාර කිහිපයක්

පැරණියන් එදා ආහාර, කාලයක් තබා ගැනීමට නොයෙකුත් සරල ක්‍රම ශිල්ප භාවිත කර ඇති අතර නූතනයේ දී දියුණු තාක්ෂණ ක්‍රම ශිල්ප භාවිත කර ආහාර ආරක්ෂා කර ඇත. එසේ ආරක්ෂා කර ගත් ආහාර කාලයක් තබා ගැනීමට හැකි නිසා ආහාර අපතේ යාම මෙන් ම නාස්තිය වළකා ගැනීමට ද හැකි ය.

තම ගෙවත්තේ වගා කර ඇති ආහාර බෝග හෝ වෙළෙඳපොළෙන් ගෙන එන ලද ආහාර බෝග හෝ ප්‍රදේශයේ වාරික ව බහුල ව ඇති ආහාර බෝග එදිනෙදා ප්‍රයෝජනයට ගෙන ඉතිරි වේ. උදාහරණ :-. තක්කාලි, දෙහි
එදිනෙදා ප්‍රයෝජනයට ගෙන ඉතිරි වන ආහාර දින කිහිපයක් ගත වීමෙන් ආහාරයට ගැනීමට නුසුදුසු තත්ත්වයට පත් වේ.

නුසුදුසු තත්ත්වයට පත් වූ ආහාරවල

* වර්ණය
* හැඩය
* ගන්ධය
* රසය
* මතුපිට ස්වභාවය

වෙනස් වේ.



2.10 රූපය . නරක් වූ ආහාර

මෙසේ ආහාරවලට ආවේණික භෞතික ලක්ෂණ වෙනස් වී ආහාර පරිභෝජනයට නුසුදුසු තත්ත්වයට පත්වීම, ආහාර නරක් වීම ලෙස හැඳින්වේ. ආහාර නරක් වීම කෙරෙහි විවිධ හේතු බලපායි.

- භෞතික හේතු - තැලීම, පොඩි වීම, උෂ්ණත්වයට භාජන වීම
- ජීව විද්‍යාත්මක හේතු - යිස්ට්, දිලීර, බැක්ටීරියා වැනි ක්ෂුද්‍ර ජීවීන්ගේ ක්‍රියාකාරීත්වයට මෙන් ම ගුල්ලන්, මීයන්, කැරපොත්තන් වැනි මහා ජීවීන්ගේ හානිවලට ලක්වීම
- රසායනික හේතු - තෙල් මුඩු වීම, කෘෂි රසායනික ද්‍රව්‍ය මුසුවීම

වාරික ආහාර රැස් කිරීම නැතහොත් කල් තබා ගැනීම සඳහා අතීතයේ දී විවිධ ක්‍රම භාවිත කර ඇත. ඉන් සරල ක්‍රම කිහිපයක් පහත දැක්වේ.

* වියළීම
* මී පැණිවල බහා තැබීම
* දුම් ගැස්සවීම
* බඩ ඉරිඟු කරල් වැනි දෑ පිටත ආවරණය සමඟ දුමේ එල්ලා තැබීම
* වැලි තුළ යට කිරීම

පැරණියන් විසින් භාවිත කළ ඉහත ක්‍රම මගින් ආහාරවල තෙතමනය ඉවත් වීම, වාතයට විවෘත නොවී තිබීම වැනි ක්‍රියාමාර්ග නිසා ක්ෂුද්‍ර ජීවීන්ගේ වැඩීම පාලනය කර කල් තබා ගෙන ඇත.

නූතනයේ දී මෙම පැරණි ක්‍රම වැඩි දියුණු කර කෙටි කාලීන හා දිගු කාලීන ව ආහාර සුරක්ෂිත කිරීම සිදු කරනු ලබයි.

උදාහරණ :-

- පැරණියන් ආහාර කල් තබා ගැනීමේ ක්‍රම ලෙස යොදා ගත් අව්වේ වියළීම හා දුම් ගැස්සවීම වැනි ක්‍රම නූතනයේ දී සූර්ය තාප විජලකය මෙන් ම ආහාර වියළීමේ පෝරණු ද උපයෝගී කර ගනිමින් සිදු කරයි.
- මී පැණිවල බහා තැබීම වෙනුවට සීනි පැණියේ බහා තැබීම සිදු කරයි.



2.11 රූපය . ආහාර කල් තබා ගැනීමට සරල තාක්ෂණික ක්‍රම යොදා ගැනීම

ආහාර රැස් කර කාලයක් තබා ගැනීමට නොයෙකුත් ක්‍රම භාවිත කළ හැකි ය. නිවසේ දී ආහාර කාලයක් තබා ගැනීම සඳහා අනුගමනය කළ හැකි සරල ක්‍රම කිහිපයක් නම්,

- ශීත කිරීම (ශීතකරණය තුළ) - කිරි, බිත්තර, මාළු
- සීනි දැමීම - පලතුරු ජෑම්
- ලුණු දැමීම - ලුණු දෙහි
- විනාකිරි එකතු කිරීම - අච්චාරු වර්ග

**අතිරික්ත ආහාර කල්තබා ගත හැකි සරල තාක්ෂණ ක්‍රම කිහිපයක් අත්හදා බලමු.**

උදාහරණ :-
- ආහාරයට ගෙන ඉතිරි වන බත් වියළා තබා ගැනීම
- කොස් මදුලු බැදීම

**බත් වියළීම**

ඉතිරි වන බත්

↓

පිරිසිදු තැටියක තුනී කිරීම

↓

හොඳින් වියළා ගැනීම

↓

කුඩු කිරීම

↓

පැකට්වල/බෝතල්වල අසුරා තැබීම

වියළා කුඩු කර ගත් බත් අවශ්‍ය අවස්ථාවක දී අග්ගලා සෑදීමට, සහල් පිටි වැනි ද්‍රව්‍යයක් සමඟ මිශ්‍ර කර වෙනත් රසකැවිලි වර්ගයක් සාදා ගැනීමට යොදා ගත හැකි ය.

**කොස් තෙලේ බැදීම**

කොස් (හොඳින් පැසුණු)

↓

මදුළු වෙන් කිරීම

↓

ඇට ඉවත් කිරීම

↓

මදුළු සේදීම

↓

සිහින් තීරු කැපීම

↓

උණු ජලයේ ස්වල්ප වේලාවක් තැබීම

↓

හොඳින් දිය බේරා හැරීම

↓

රත් වූ තෙලේ මඳක් බැද ගැනීම

↓

නිවෙන්නට හැරීම

↓

පැකට් කිරීම

↓

පරිභෝජනයට ගන්නා තෙක්
ශීතකරණයේ තැබීම

මෙසේ මඳක් බැද ගෙන ශීතකරණයේ තබා ගත් කොස් අවශ්‍ය අවස්ථාවක දී කිරි කොස් ව්‍යංජනයක් ලෙස පිස ආහාරයට ගැනීමට හැකි ය.

කල් තබා ගැනීම සඳහා ආහාර සැකසීමේ දී පහත දැක්වෙන කරුණු පිළිබඳ ව සැලකිලිමත් විය යුතු ය.

- සකස් කරන පුද්ගලයාගේ පෞද්ගලික පවිත්‍රතාව
- මුළුතැන්ගෙයි ආම්පන්න හා උපකරණ නිවැරදි ව භාවිතය හා ඒවායේ පවිත්‍රතාව
- ආහාරවල පවිත්‍රතාව
- නිවැරදි තාක්ෂණික ක්‍රියාවලි යොදා ගැනීම
- යෝග්‍ය ලෙස ඇසුරුම් කිරීම
- නිසියාකාර ව ගබඩා කිරීම
- ආහාරය සකස් කළ දිනය හා ආහාරයට ගැනීම සඳහා සුදුසු කාලය

**ක්‍රියාකාරකම 2.8**

එදිනෙදා ප්‍රයෝජනයට ගෙන ඉතිරි වන පහත සඳහන් ආහාර ඉදිරි කාලයේ දී ප්‍රයෝජනයට ගැනීම සඳහා ආරක්ෂා කර ගැනීමට ඔබ යෝජනා කරන සරල තාක්ෂණ ක්‍රම කිහිපයක් ඉදිරිපත් කරන්න.

| ආහාර වර්ගය | ප්‍රයෝජනයට ගන්නා තෙක් සුරක්ෂිත කරගත හැකි සරල තාක්ෂණ ක්‍රමය |
|---|---|
| 1. දෙල් | |
| 2. කරවිල | |
| 3. අඹ | |
| 4. තක්කාලි | |
| 5. අළු කෙසෙල් | |

# තාක්ෂණික ක්ෂේත්‍රය - ආරම්භක තාක්ෂණවේදය

## 03

# නිසි ආවුද නිසි කාර්යයට

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- තාක්ෂණික කාර්යයන් සඳහා ගැළපෙන මූලික අත්ආවුද, උපකරණ හා ද්‍රව්‍ය තෝරා ගැනීමට
- විවිධ ද්‍රව්‍ය කාර්යයට ගැළපෙන පරිදි යොදා ගැනීමට විමසිලිමත් වීමට
- මූලික අත්ආවුද හා උපකරණ ආරක්ෂාකාරී ව භාවිතය හා නඩත්තු කිරීම කෙරෙහි අවධානය යොමු කිරීමට

හැකියාවක් ලැබෙනු ඇත.

සරල අත්ආවුද, උපකරණ හා ද්‍රව්‍ය ආරක්ෂාකාරී ව පරිහරණය කරමින් තාක්ෂණික කාර්යයන් සිදු කරමු.

අපට කිසියම් භාණ්ඩයක් තැනීමට විවිධ ද්‍රව්‍ය යොදා ගැනීමට සිදු වේ. එම ද්‍රව්‍ය, අමුද්‍රව්‍ය ලෙස හඳුන්වනු ලබයි.

පහත සඳහන් රූපය හොඳින් නිරීක්ෂණය කරන්න.



3.1 රූපය . බංකුව

මෙහි ඔබ දකින භාණ්ඩය තනා ඇත්තේ ලී කැබැල්ලක් සහ ඇණ (අමුද්‍රව්‍ය) කිසියම් තාක්ෂණික කාර්යයන් කිහිපයකට ලක් කිරීමෙනි.

එම තාක්ෂණික ක්‍රියාවලිය 3.2 රූපය පරිදි ඔබට මෙසේ හඳුනාගත හැකි ය.




3.2 රූපය . බංකුවක් සෑදීමේ තාක්ෂණික ක්‍රියාවලිය

එවැනි තාක්ෂණික ක්‍රියාවලි කිහිපයක් පහත වගුවේ දක්වා ඇත.

| අමුද්‍රව්‍ය | තාක්ෂණික කාර්ය | නිමැවුම/භාණ්ඩය |
|---|---|---|
| ලී | මැනීම, සලකුණු කිරීම<br>කැපීම, විදීම, මූට්ටු කිරීම<br>එකලස් කිරීම, සුමට කිරීම<br>නිමහම් කිරීම | පෑන්, පැන්සල් රඳවනය |
| තුනී ලෝහ තහඩු | මැනීම, සලකුණු කිරීම,<br>කැපීම, නැමීම,<br>විදීම, එකලස් කිරීම<br>නිමහම් කිරීම | කාල සටහන් ආධාරකය |
| කාඩ්බෝඩ් | මැනීම, සලකුණු කිරීම,<br>කැපීම, ඇලවීම, එකලස් කිරීම,<br>නිමහම් කිරීම | නාම පුවරුවක් |
| ප්ලාස්ටික් | කැපීම, රත් කිරීම, නැමීම, ඇලවීම | නාම පුවරුවක් |

පැවරුම :

ඔබට එදිනෙදා හමු වන මෙවැනි අමුද්‍රව්‍ය නිමැවුම් බවට පත් වී ඇති ආකාරය සොයා වගුවක් මගින් ඉදිරිපත් කරන්න.

භාණ්ඩ තැනීමේ දී භාවිත කරන අමුද්‍රව්‍ය සතු වූ විවිධ ගුණාංග ඇත. භාණ්ඩ හෝ නිපැයුම් තැනීමේ දී විවිධ අමුද්‍රව්‍ය සතු එම ගුණාංග ඉතා වැදගත් වේ.

| භාණ්ඩය/ නිපැයුම | අමුද්‍රව්‍ය | අමුද්‍රව්‍ය සතු ගුණාංග |
|---|---|---|
| ලී ඉනිමඟ | ලී/දැව | ඔරොත්තුදීමේ හැකියාව<br>ශක්තිමත් බව |
| පිඟන් රාක්කය | ලෝහ බට කම්බි | නැමීමේ හැකියාව<br>පෑස්සීමේ හැකියාව<br>ඔරොත්තුදීමේ හැකියාව |
| සරල විදුලි පරිපථයක් | වයර් | විදුලිය ගමන් කිරීමේ හැකියාව |
| පෑස්සුම් බවුතයේ තුඩ | තඹ ලෝහ | තාපය රඳවා ගැනීමේ හැකියාව |
| ජල නළ පද්ධතිය | PVC | නැමීමේ හැකියාව ඔරොත්තු දීමේ හැකියාව |

## භාණ්ඩ තැනීමේ දී අවශ්‍ය වන අත්ආවුද හා උපකරණ හඳුනා ගනිමු

සරල තාක්ෂණික කාර්යයන් සිදු කර, නිමැවුම් සකස් කිරීමේ දී කාර්යයට උචිත ද්‍රව්‍ය තෝරා ගැනීම වැදගත් ය. එමෙන් ම ආරක්ෂාව තහවුරු වන පරිදි අත්ආවුද හා උපකරණ නිවැරදි ව භාවිත කිරීමේ හැකියාව ද ලබා තිබිය යුතු ය.

### වානේ කෝදුව

* මල නොබැඳෙන වානේ ලෝහයෙන් නිපදවා ඇත.
* අඟල් හා සෙන්ටිමීටර්වලින් සලකුණු කර ඇත.
* තාක්ෂණ ක්ෂේත්‍රයේ, ලෝහ ආශ්‍රිත මැනීම් කටයුතුවල දී වානේ කෝදු භාවිත කරයි.



3.3 රූපය . වානේ කෝදුව

## අඳින කටුව

* ලෝහ මත ඇඳීම සඳහා භාවිත කරයි.
* වානේවලින් නිපදවා ඇත.
* මෙහි සිහින් තුඩ නිසා සීරීමක් සිදු කරයි.
* භාවිතයේ දී ආවුදය ලිස්සා යාම වැළැක්වීම සඳහා බඳ කැරලි යොදා ඇත.




3.4 රූපය . අඳින කටුව

## දුනු බෙදුම් කටුව

* ලෝහ මත වෘත්තාකාර හැඩ ඇඳීමට භාවිත කරන උපකරණයකි.
* තුඩ කොටස වානේවලින් නිපදවා ඇත.




3.5 රූපය . දුනු බෙදුම් කටුව

## අත් කියත

* ලී කැපීම සහ ඉරීම සඳහා භාවිත කරයි.
* දැති ගෙවීමේ දී පීරක් මගින් මුවහත් තැබීම සිදු කරයි.
* කැපීමේ පහසුව සඳහා දැති හැඩ ගසා ඇත.



3.6 රූපය . අත් කියත

## කපන කටුව



3.7 රූපය . කපන කටුව

* විශේෂිත වානේවලින් නිපදවා ඇත.
* ලෝහ කැපීම, සැහීම වැනි කටයුතු සඳහා භාවිත කරයි.
* කැපීමේ දී කටුවට පහර දීමට මිටියක් භාවිත කළ යුතු ය.
* මෙහි තුඩ දැඩි ලෙස පණ පොවා ඇත.
* තුඩේ හැඩය අනුව කපන කටු වර්ග කරයි.

## තහඩු කතුර



3.8 රූපය . තහඩු කතුර

* විශේෂිත වානේවලින් නිපදවා ඇත.
* තුනී ලෝහ තහඩු කැපීමට භාවිත කරයි.

## පැති නියන

* දැව සැහීම, පට්ටම් කැපීම සඳහා භාවිත කරයි.
* කැටයම් කැපීම වැනි කටයුතු සඳහා විශේෂිත හැඩ නියන් භාවිත කරයි.



3.9 රූපය . පැති නියන

## පීර

* වානේවලින් නිපදවා ඇත.
* ලෝහ, හැඩ ගැන්වීම සඳහා භාවිත කරයි.
* පීර භාවිතයේ දී එයට මිටක් සවිකර ගැනීම අත්‍යවශ්‍ය වේ.
* හැඩය අනුව පීර් වර්ග කළ හැකි ය.



3.10 රූපය . පීර

## යත්ත (යතු කැටය)

* ලී මට්ටම් ගෑම (යතු ගෑම) සඳහා ප්‍රධාන වශයෙන් භාවිත කරයි.
* ලීවලින් හෝ යකඩවලින් තැනූ අච්චුවකට කැපුම් තලයක් යොදා සකස් කර ඇත.



3.11 රූපය . යත්ත

## ලෝහ කියත

* මෙය රාමුවකින් හා තලයකින් සමන්විත වේ.
* තලය වානේවලින් නිපදවා ඇත.
* ලෝහ කැපීමට මෙන් ම ජල නළ වැඩ සඳහා යොදා ගන්නා PVC බට වැනි දෑ කැපීමට ද භාවිත වේ.



3.12 රූපය . ලෝහ කියත

## අත් විදුම් යන්ත්‍රය / බුරුමය

* විදීම සිදු කරනු ලබන්නේ විදුම් කටු මගිනි.
* භාවිත කරන කාර්යයට ගැළපෙන විදුම් කටුවක් විදුම් යන්ත්‍රයට සවි කර විදීම කරනු ලබයි.
* අත් විදුම් යන්ත්‍ර මෙන් ම විදුලි විදුම් යන්ත්‍ර ද ඇත.
* කාර්ය අනුව විශේෂිත විදුම් කටු ද ඇත.
* බුරුමය ද ලී විදීම සඳහා භාවිත කරන උපකරණයකි.



3.13 රූපය . අත් විදුම් යන්ත්‍රය



3.14 රූපය . බුරුමය

## අතකොළුව

* විශේෂයෙන් මෙය නියනට පහර දීම සඳහා භාවිත කරයි.





3.15 රූපය . අතකොළුව

## අඬු මිටිය

* ඇණ ගැසීම, ඇණ ගැලවීම සඳහා භාවිත කරයි.
* මිටිය වාත්තු වානේවලින් තනා මිට දැවවලින් ද සකසා ඇත.



3.16 රූපය . අඬු මිටිය

## ඉස්කුරුප්පු නියන

* ඉස්කුරුප්පු ඇණ සවි කිරීම හා ගැලවීම සඳහා භාවිත කරයි.



3.17 රූපය . ඉස්කුරුප්පු නියන

## දඬු අඬුව



3.18 රූපය . සමාන්තර හකු දඬු අඬුව

* යමක් තදින් අල්ලා ගැනීමට භාවිත කරයි.
* විවිධ ප්‍රමාණයෙන් ඇත.
* ඒ ඒ කාර්යය අනුව විශේෂිත දඬු අඬු නිපදවා ඇත.

## පොදු අත් අඬුව



3.19 රූපය . අත් අඬුව

* කුඩා යමක් තදින් අල්ලා ගැනීමට පොදු අත් අඬුව භාවිත කරයි.
* උල් අඬුව හා වටනැහැ අඬුව විශේෂිත වැඩ සඳහා භාවිත කරයි.
* කුඩා කම්බි කැපීම වැනි කටයුතු සඳහා කැපුම් අඬු භාවිත කරයි

## බවුතය / පාහනය

* පෑදු පැස්සීම සඳහා භාවිත කරයි.
* බවුතයේ තුඩ තඹ ලෝහයෙන් තනා ඇත.
* විදුලිය උපයෝගී කර භාවිතයට ගනු ලබන්නේ විදුලි බවුතය යි.





3.20 රූපය . බවුතය

නිෂ්පාදන සඳහා යොදා ගන්නා අමුද්‍රව්‍ය විවිධ ගුණාංගවලින් සමන්විත වන බව ඔබ මේ වන විට අවබෝධ කරගෙන ඇත. ඉතා ම අඩු වියදමින් හා පහසුවෙන් යම් කාර්යයක් කර ගැනීමේ දී පහත සඳහන් කරුණු පිළිබඳ ව අවධානය යොමු කිරීම වැදගත් වේ.

- අපේක්ෂිත කාර්යයට උචිත ගුණාංග සහිත අමුද්‍රව්‍ය භාවිත කිරීම
- අමුද්‍රව්‍ය පිරිමසා ගැනීමට නිවැරදි ව සලකුණු යෙදීම
- නාස්තිය අවම කර ගැනිමින් අමු ද්‍රව්‍ය පිරිමසා ගැනීමට කටයුතු කිරීම
- අවශ්‍යතාව  අනුව කොටස් වෙන් කර ගැනීම
- නිවැරදි එකලස් කිරීමේ ක්‍රමය තෝරා ගැනීම

කිසියම් භාණ්ඩයක් හෝ උපකරණයක් තැනීමේ දී කොටස් එකලස් කිරීම පිළිබඳ අවබෝධය ද ඉතා වැදගත් ය.

| ද්‍රව්‍ය | එකලස් කිරීමට යොදා ගත් ක්‍රමය |
|---|---|
| තහඩු දෙකක් | මුට්ටු කිරීම |
| කම්බි දෙකක් | ගැට ගැසීම |
| ඝන ලෝහ තහඩු / ලෝහ බට /කම්බි | පෑස්සීම /වෙල්ඩින් කිරීම |
| තුනී ලෝහ තහඩු | පෑස්සීම/ මුට්ටු කිරීම/රිවට් කිරීම |
| ලී / කඩදාසි / රබර් / PVC | ඇලවීම |

භාණ්ඩයක් හෝ උපකරණයක් තැනීමේ දී ආරක්ෂාකාරී ව ක්‍රියාවෙහි නිරත වීමට ද සැලකිලිමත් විය යුතු ය.

ආරක්ෂාව

පුද්ගල ආරක්ෂාව

ආවුද/උපකරණවල හා ස්ථානයෙහි ආරක්ෂාව

**වැඩ කරන පුද්ගලයන්ගේ ආරක්ෂාව සඳහා අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ග**

* භාවිත කරන අත්ආවුද හා උපකරණ පිළිබඳ නිවැරදි අවබෝධය
* ආවුද හා උපකරණ භාවිතය පිළිබඳ නිවැරදි ශිල්පීය ක්‍රම අනුගමනය කිරීම
* ආරක්ෂිත උපකරණ පැළඳ සිටීම
* කාර්යයට උචිත ඇඳුම් ඇඳ සිටීම

**ආවුද /උපකරණ හා ස්ථානයෙහි ආරක්ෂාව සම්බන්ධයෙන් අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ග**

* කාර්යයට අවශ්‍ය නිවැරදි ආවුද සහ උපකරණ තෝරා ගැනීම
* ආවුද භාවිතය පිළිබඳ නිවැරදි අවබෝධය ලබා ගැනීම

  උදාහරණ :
  - කියතෙන් කැපීමේ දී අධික වේගයක් නොමැති ව නිසි වේගයක් පවත්වා ගැනීම
  - නියනක් භාවිතයේ දී මිටියක් භාවිත නොකොට අතකොලුවක් භාවිත කිරීම

* නිවැරදි ලෙස ආවුද, උපකරණ එහා මෙහා ගෙන යාම
* නිවැරදි ව ආවුද ගබඩා කිරීම සහ සුරක්ෂිත ව තබා ගැනීම
* වැඩ කොටස් තබා ගන්නා වැඩ බංකුවට දඬු අඬු ආදිය මැනවින් සවි කර තැබීම
* විදුලි රැහැන්, පේනු ආදිය ආරක්ෂා සහිත ව සවි කර තැබීම
* ආවුද උපකරණ නිසි අයුරින් නඩත්තු කිරීම
* වැඩ කරන ස්ථානය පිරිසිදු ව පවත්වා ගැනීම

  උදාහරණ :-. තෙල්/ග්‍රීස් සහ ජලය ආදිය ගෙබිම මත විසිරී නොතිබෙන ආකාරයට කටයුතු කිරීම.

**ක්‍රියාකාරකම 3.1**

ඉවත ලන ලෑලි කෑල්ලක් භාවිතයෙන් පන්ති නාම පුවරුවක් සකස් කරන්න. ඒ සඳහා විෂය භාර ගුරුතුමියගේ උපදෙස් ලබා ගන්න.

අවශ්‍ය නම් ඔබට පහත රූප සටහන ඒ සඳහා උපයෝගී කර ගත හැකි ය. සියලු ම මිනුම් මිලි මීටර්වලින් දක්වා ඇත.






# කුඩා සරල නිමැවුම් - සාදයි සතුට මනරම්

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- නිර්මාණ අදහස රූප සටහන් මගින් දැක්වීමට
- කාර්යයට උචිත මූලික අත් ආවුද, උපකරණ හා ද්‍රව්‍ය තෝරා ගැනීමට
- ඵලදායි සරල නිමැවුම් සකස් කිරීමට

හැකියාවක් ලැබෙනු ඇත.

පහසුවෙන් සපයා ගත හැකි ද්‍රව්‍ය භාවිතයෙන් ප්‍රයෝජනවත් සරල නිමැවුම් කිරීමට හැකි ය.



3.21 රූපය . ඉවත ලන ද්‍රව්‍ය යොදාගනිමින් නිර්මාණය කළ ඇසුරුමක්

තම සිතට නැගෙන නිර්මාණ අදහසක් රූපයට නැගීමේ හැකියාව නිර්මාණකරණයේ දී ඉතා වැදගත් ය. ඔබ කුඩා කල සිට ම කටු සටහන් ඇඳීමේ හැකියාව (Sketch Design) වර්ධනය කර ගෙන ඇත්නම් ඔබේ සිතට නැගෙන අදහස මැනවින් රූපයට නැගීමට හැකි වනු ඇත.

පහත දී ඇති කාර්මික චිත්‍රය (Technical Drawing) හොඳින් නිරීක්ෂණය කරන්න. එහි දක්නට ලැබෙන්නේ මංගල කේක් අසුරනයකි. මංගල කේක් අසුරනය ත්‍රිමාණ වස්තුවකි. මෙවැනි ත්‍රිමාණ වස්තුවක් ද්විමාන තලයක් මත දිග හැරෙන ආකාරය විකසනය ලෙස හඳුන්වයි.



3.22 රූපය . මංගල කේක් අසුරනයක්

**ක්‍රියාකාරකම 3.2**

පහත ඇඳ ඇති විකසනය හොඳින් නිරීක්ෂණය කරන්න.

3.22 රූපයේ දක්වෙන පරිදි ඝන කඩදාසි කැබැල්ලක් මත මංගල කේක් අසුරනයේ සහ එහි පියනේ විකසන දෙක ඇඳ ගන්න.

සියලු ම මිනුම් මිලි මීටර්වලින් දක්වා ඇත.




3.23 රූපය . කේක් අසුරනයේ විකසනය

3.23 රූප සටහනේ දැක්වෙන පරිදි කැපුම් දාර සලකුණු කර ගන්න. නැවුම් දාර ද කඩ ඉරි මගින් සලකුණු කර ගන්න.




3.24 රූපය - විකසනය කැපුම් දාර ඔස්සේ කපා ගැනීම

3.24 රූපයේ දක්වෙන පරිදි කැපුම් දාර ඔස්සේ කේක් අසුරණයේ විකසනය වටේට කපා ගන්න. නැවුම් දාර ඔස්සේ කේක් අසුරනයේ විකසනය නවා ගන්න.



3.25 රූපය . කේක් අසුරනය අලවා ගැනීම.



3.26 රූපය . අලවා නිම කරගත් කේක් අසුරනය

රූපය 3.25 දක්වා ඇති පරිදි ඊතලවලින් පෙන්වා ඇති කොටස අලවා ගන්න. පෙට්ටිය සහ පියන අලවා නිම කර ගත් පසු 3.26 රූප සටහනේ පෙනෙන ආකාරයේ නිමැවුමක් ලබා ගත හැකි ය.



3.27 රූපය . අලංකාර කේක් අසුරන

විවිධ අලංකරණ ක්‍රම යොදා මෙවැනි ඇසුරුම් ඔබට ද නිෂ්පාදනය කළ හැකි ය. එමෙන් ම ආර්ථික වාසි ලබා ගැනීම සඳහා ද මෙවැනි නිෂ්පාදන ඉවහල් වේ.

# විසඳුම හොඳයි - ගැටලුව නිමයි

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- අවට පරිසරයේ හමු වන ගැටලු අතරින් තාක්ෂණික විසඳුම් ලබාදිය හැකි ගැටලු වෙන් කර දැක්වීමට
- ගැටලුවලට බලපාන විවිධ හේතු සාධක විමසා බැලීමට
- ගැටලු සඳහා විසඳුම් ලෙස සරල තාක්ෂණික නිර්මාණ ඉදිරිපත් කිරීමට

හැකියාව ලැබෙනු ඇත.






ඉහත සඳහන් වන්නේ නිර්මලාගේ පවුලේ දරුවන් අතර ඇති වූ සංවාදයක කොටසකි. එම සංවාදය තුළින් පැහැදිලි වන්නේ අක්‍රමවත් ව වැඩ කිරීම නිසා මුහුණ පෑමට සිදු ව ඇති ගැටලුවකි. එම ගැටලුව විසඳීම සඳහා පවුලේ සාමාජිකයන්ගෙන් විවිධ විසඳුම් යෝජනා කිහිපයක් ඉදිරිපත් වී ඇත. ඒ අනුව එම කරුණු ගැඹුරින් අධ්‍යයනය කර නිවැරදි විසඳුමකට යා යුතු ය.

ඔබ මුහුණපාන ඕනෑ ම ගැටලුවකට විසඳුම් සොයා ගත යුතු වන්නේ ද ඒ ආකාරයට ම ය. ගැටලුවක් විසඳා ගැනීමේ දී ඒ සඳහා වැඩිහිටියන්ගේ සහ ගුරුවරුන්ගේ සහය ඔබට ලබා ගත හැකි ය.

මේ අනුව නිර්මාණ ක්‍රියාවලියක මූලික පියවර පහත සඳහන් පරිදි හඳුනා ගන්න.




ගැටලුව - මේසය මත අල්පෙනෙත්ති අපිළිවෙළට දැමීම නිසා අනතුරු සිදුවීම

ඉදිරිපත් වූ විවිධ විසඳුම් අතරින් ඉවතලන ප්ලාස්ටික් පුයර බඳුනක් උපයෝගී කරගෙන අල්පෙනෙත්ති, පෑන් සහ පැන්සල් අසුරණයක් සකසා ගැනීම හොඳම විසඳුම විය.

### අල්පෙනෙත්ති අසුරණයක් නිර්මාණය කිරීම

අල්පෙනෙත්ති අසුරණයක් සඳහා අවශ්‍ය අමුද්‍රව්‍ය සහ උපකරණ හඳුනා ගනිමු

අවශ්‍ය අමුද්‍රව්‍ය :-

1. ඉවතලන ප්ලාස්ටික් පවුඩර් බඳුනක්
2. 15 mm විෂ්කම්භය ඇති 60 mm දිග p.v.c කන්ඩියුට් බට කැබැලි 2ක්
3. 100 x 60 x 10 mm ලී කැබැල්ලක්
4. ගම් (ලී හා ප්ලාස්ටික් ඇලවිය හැකි සුදුසු ද්‍රව්‍යයක්)

අවශ්‍ය ආවුද / උපකරණ :-

1. වානේ කෝදුව
2. පැන්සල
3. මුලු මට්ටම
4. ලෝහ කපන කියත
5. අත් කියත




3.28 රූපය . 'කන්ඩියුට්' බට කැබලි දෙක

දිග 60 mm විෂ්කම්භය 15 mm PVC බට කැබැලි 2ක් අංශක $60^0$ ආනතියකට කපා සකස් කර ගන්න.




3.29 රූපය . ලී කැබල්ල

පළල 60 mmක් ද දිග 100 mmක් වූ ද 10 mm ඝනකම ඍජුකෝණාස්‍රාකාර ලී කොටසක් සකස් කර ගන්න.




3.30 රූපය . කපාගත් ප්ලාස්ටික් පුයර බඳුන

ඉවත ලන ප්ලාස්ටික් පුයර බඳුනක් සපයා ගෙන එහි පතුලේ සිට ඉහළට **15 mmක් සිටින සේ කපා ගන්න.**



3.31 රූපය . ලෑලි කැබැල්ල මත කොටස් සවි කරගත යුතු ස්ථාන



3.32 රූපය . අල්පෙනෙත්ති බඳුන

3.29 රූපයේ පෙන්වා දී ඇත්තේ අවශ්‍ය කොටස් ඇලවිය යුතු ස්ථානයන් ය. ඒ ආකාරයට ලී කොටස මත සුදුසු ගම් වර්ගයක් යොදා ගෙන අවශ්‍ය කොටස් අලවා ගන්න.

# 04 තාක්ෂණික ක්ෂේත්‍රය - ව්‍යාපාර කටයුතු

## උචිත සැපයුම්කරුවන් ඇසුරින් සපුරමු නිසි වුවමනා

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- අවශ්‍යතා හා වුවමනා සංසන්දනය කිරීමට
- අවශ්‍යතා හා වුවමනා ඉටු කර ගැනීමට අවශ්‍ය භාණ්ඩ හා සේවා තෝරා ගැනීමට
- භාණ්ඩ හා සේවා සපයන සැපයුම්කරුවන් පිළිබඳ අධ්‍යයනය කිරීමට

හැකියාවක් ලැබෙනු ඇත.

මානව සමාජයේ මුල් ම යුගයේ ජීවත් වූ මිනිස්සු ඉතා සරල ජීවන රටාවක් අනුව ජීවත් වූහ. ඔවුන්ගේ දිවි පැවැත්මට අවශ්‍ය දෑ සියල්ල ම අවට පරිසරයෙන් සපයා ගන්නා ලදි. ගස්වල කොළ, ගෙඩි, තෙළා ගැනීමෙන්, අල වර්ග හාරා ගැනීමෙන්, සතුන් දඩයම් කිරීමෙන්, ආහාර සපයා ගන්නා ලදි. කොළ අතු, සතුන්ගේ සම් යනාදිය ඇඳුම් ලෙස යොදා ගැනීමත් වාසස්ථාන ලෙස ගස්බෙන, ගල්ගුහා සකස් කර ගැනීමත් තුළින් එදිනෙදා ජීවත් වීමට අවශ්‍ය දෑ ඔවුනොවුන් විසින් ම සකසා ගනු ලැබී ය. වෙනත් කෙනකුගෙන් තමන්ගේ යැපීමට අවශ්‍ය දෑ ලබා නොගත් මේ වකවානුව ස්වයංපෝෂිත යුගයක් ලෙස හැඳින්වේ. ඉන් පසු ව එකිනෙක පුද්ගලයන් තමන් නිෂ්පාදනය කරනු ලැබූ අතිරික්ත භාණ්ඩ වෙනත් අයගේ නිෂ්පාදන අතිරික්තය සමඟ හුවමාරු කර ගැනීම හෙවත් භාණ්ඩ හුවමාරුව මඟින් අවශ්‍යතා හා වුවමනා සපුරා ගැනීම සිදු විය.

සමාජයේ ඊළඟ වෙනස්වීම වූයේ ආදායම් මාර්ගයක් ලෙස ලාභ උපයා ගැනීමේ අපේක්ෂාවෙන් වෙළෙඳපොළ සඳහා ම භාණ්ඩ හා සේවා නිෂ්පාදනය කිරීම ආරම්භ වීම යි. අද වන විට සෑම කෙනකු ම වෙළෙඳපොළෙන් තමන්ට අවශ්‍ය කරන බොහෝ දෑ මිල දී ගන්නා තත්ත්වයට සමාජය වෙනස් වී ඇත.

## අවශ්‍යතා

ජීවත් වීම සඳහා යම් පුද්ගලයකු අනිවාර්යයෙන් ම ඉටු කර ගත යුතු දෑ හැඳින්වෙන්නේ අවශ්‍යතා ලෙස යි. අපේ දිවි පැවැත්මට නැති ව ම බැරි අවශ්‍යතා කිහිපයක් පහත දැක්වේ.

- ආහාරපාන
- වාසස්ථාන
- ඇඳුම් පැලඳුම්
- ආරක්ෂාව
- සෞඛ්‍යය
- අධ්‍යාපනය
- සන්නිවේදනය
- ප්‍රවාහනය

## වුවමනා

එදිනෙදා අවශ්‍යතා සපුරා ගැනීමේ දී එක් එක් පුද්ගලයාගේ වුවමනා එකිනෙකට වෙනස් වේ. ආහාර අවශ්‍යතාව සපුරා ගැනීම සඳහා කෙනකුට බත් වුවමනා වන අතර තවත් කෙනකුට කඩල වුවමනා කරයි.
මේ ආකාරයට අවශ්‍යතා සපුරා ගැනීමට යොදා ගනු ලබන විවිධ ආකාර හෙවත් විවිධ ස්වරූප වුවමනා ලෙස හැඳින්වේ. අවශ්‍යතා මෙන් නොව වුවමනා පුද්ගලයාගෙන් පුද්ගලයාට විවිධ වේ.

අවශ්‍යතා හා ඒවාට ගැළපෙන වුවමනා පහත සඳහන් වගුවෙන් හඳුනාගත හැකි ය.

| අවශ්‍යතා | වුවමනා |
|---|---|
| 1. ආහාර පාන | බත්, කඩල, කව්පි, තෝසෙ, පලතුරු, කිරි, ජලය |
| 2. වාසස්ථාන | නිවාස, කුඩාරම්, මන්දිර, මාලිගා |
| 3. ඇඳුම් පැලඳුම් | සරොම්, කමිස, සාරි, කලිසම්, පාවහන් |
| 4. ආරක්ෂාව | දෙමාපිය රැකවරණය, පොලිසිය, හමුදාව, ආරක්ෂක හිස් වැසුම්,කුඩ |
| 5. සෞඛ්‍යය | රජයේ රෝහල්, බෙහෙත්, වෛද්‍යවරුන්, පෞද්ගලික රෝහල් |
| 6. අධ්‍යාපනය | පාසල්, පොත්-පත්, පුස්තකාල, පුවත්-පත්, අන්තර්ජාලය |
| 7. සන්නිවේදනය | ලිපිය, දුරකථනය, පුවත්-පත්, ටෙලෙක්ස්, අන්තර්ජාලය |
| 8. ප්‍රවාහනය | බයිසිකල, බස්, වෑන්, දුම්රිය, නැව් |

## අවශ්‍යතා හා වුවමනා සැසඳීම

| අවශ්‍යතා | වුවමනා |
|---|---|
| 1. අවශ්‍යතා සෑම කෙනකුට ම පොදු ය.<br>උදාහරණ- :. ආහාර, සෑම කෙනකුට ම අත්‍යවශ්‍ය වේ.<br><br>2. අවශ්‍යතා සීමිත යි. ජීවත් වීම සඳහා සපුරා ගත යුතු වන්නේ සීමිත අවශ්‍යතා ප්‍රමාණයකි. | 1. වුවමනා පුද්ගලයාගෙන් පුද්ගලයාට විවිධ වේ.<br>උදාහරණ :- ආහාර අවශ්‍යතාව සඳහා බත්, කඩල, ඉඳි ආප්ප, තෝසෙ රොටි වැනි තවත් විවිධ දෑ පරිභෝජනය කෙරේ.<br><br>2. වුවමනා අසීමිත යි. පුද්ගලයකු ඉටු කර ගැනීමට උත්සාහ කරන වුවමනාවල සීමාවක් නොමැත. |

**ක්‍රියාකාරකම 4.1**

(i) පහත දැක්වෙන වගුව ඔබේ අභ්‍යාස පොතේ පිටපත් කරගෙන එහි B තීරයේ දැක්වෙන වුවමනාවලට ගැළපෙන අවශ්‍යතා A තීරයේ හිස්තැන්වල ලියන්න.

| A තීරය | B තීරය |
|---|---|
| ආහාර පාන | කෝපි, පලතුරු බීම, ඉඳි ආප්ප |
| .................... | ගවුම්, කමිසය, බැනියම, සපත්තු |
| .................... | මුරකරු, දෙමාපිය ආදරය |
| .......................... | බෙහෙත්, වෛද්‍ය උපකරණ, ශල්‍යකර්ම |
| ......................... | කරත්තය, ගුවන් යානා, ලොරි රථය |

(ii). ඔබ ගමනක් යන එන අතර මග දී ඔබට මුණ ගැසෙන අයගේ ඇඳුම් පැලඳුම් පුද්ගලයාගෙන් පුද්ගලයාට විවිධ බව නිරීක්ෂණය කර හඳුනා ගන්න. ඇඳුම් පැලඳුම් අවශ්‍යතාව සඳහා ගැළපෙන වුවමනාවන් දහයක ලේඛනයක් සකස් කරන්න.

## භාණ්ඩ හා සේවා

අවශ්‍යතා නිසා ඇති වන මිනිසාගේ වුවමනාවන් ඉටු කර ගැනීමට විවිධ දෑ පරිභරණය කරයි. ඒවා භාණ්ඩ සහ සේවා ලෙස ප්‍රධාන කොටස් දෙකකට වෙන් කෙරේ.

**ක්‍රියාකාරකම 4.2**

ඔබ සහ ඔබගේ පවුලේ සෙසු සාමාජිකයන් එදිනෙද පරිභරණය කරන දෑ හැකි පමණ ලැයිස්තු ගත කරන්න.

## භාණ්ඩ

ඉහත දැක්වෙන ආකාරයට ඔබ සකස් කළ ලැයිස්තුවේ තිබිය හැකි අවශ්‍යතා හා වුවමනා ඉටු කර ගැනීමට යොදා ගැනෙන තුවාය, බුරුසුව, පොත් පත්, පෑන්, පැන්සල් වැනි ද්‍රව්‍යමය දෑ භාණ්ඩ ලෙස හැඳින්වේ. ඒවා ස්පර්ශ කළ හැකි යි. රැස් කිරීම හෙවත් ගබඩා කිරීම කළ හැකි යි. පහත පින්තූරයේ දැක්වෙන්නේ මෙවැනි තවත් භාණ්ඩ කිහිපයකි.


පුටුව


බෑගය


සපත්තු ජෝඩුව


ඔරලෝසුව


බෝතලය


අල්මාරිය

## සේවා

අවශ්‍යතා හා වුවමනා සපුරා ගැනීමට යොදා ගනු ලබන භෞතික පැවැත්මක් නොමැති අද්‍රව්‍යමය දෑ සේවා ලෙස හැඳින්වේ. සේවාවල දැකිය හැකි ප්‍රධාන ලක්ෂණ දෙකක් වනුයේ, ස්පර්ශ කිරීමත් ගබඩා කිරීමත් කළ නොහැකි වීම ය. සේවා සපයන පුද්ගලයා අනුව සේවාවේ ගුණාත්මක බව විවිධ වේ. දෛනික ව අවශ්‍යතා හා වුවමනා ඉටු කර ගැනීමට යොදා ගන්නා සේවා සපයන අවස්ථා කිහිපයක් පහත රූප සටහනේ දැක්වේ.



ගුරු සේවය



වෛද්‍ය සේවය



ප්‍රවාහන සේවය



සාත්තු සේවය



සන්නිවේදන සේවා




බැංකු කටයුතු

**ක්‍රියාකාරකම 4.3**

හය වැනි ශ්‍රේණියේ සිසුන් පිරිසක් එක් වී, ඔවුනොවුන්ගේ පවුල්වල, අවශ්‍යතා හා වුවමනා ඉටු කර ගැනීමට යොදගත් භාණ්ඩ හා සේවා ඇතුළත් කර පිළියෙල කළ වගුවකින් උපුටා ගත් කොටසක් පහත දක්වේ.

| භාණ්ඩ | සේවා |
|---|---|
| පොත | ගුරු සේවය |
| පෑන | හෙද සේවය |
| බෑගය | |
| | |
| | |

මෙම වගුව ඔබේ අභ්‍යාස පොතේ පිටපත් කරගෙන තවත් භාණ්ඩ හා සේවා දහය බැගින් එහි ලියන්න.

## වැය කරන මුදලට සුදුසු ම දේ තෝරමු

අවශ්‍යතා ඉටු කර ගැනීමට උත්සාහ කිරීමේ දී විවිධ වුවමනාවන් ඇති වේ. එක ම අවශ්‍යතාව ඉටු කර ගත හැකි විවිධ නිපැයුම් වෙළෙඳපොළේ බහුල ය. ඒවායින් යමක් මිල දී ගැනීමේ දී බුද්ධිමත් ව සිතා මතා කටයුතු නොකළහොත් අප වැය කළ මුදල් අපතේ යා හැකි ය. යමක් මිල දී ගැනීමේ දී සලකා බැලිය යුතු කරුණු කිහිපයක් පහත දක්වේ.

* මිල දී ගන්නා නිෂ්පාදිතයේ අවශ්‍යතාව
* මිල දී ගන්නා ස්ථානය
* ආදායමින් වැය කළ හැකි මුදල
* වෙළෙඳපොළේ පවතින තරගකාරී මිල ගණන්
* භාණ්ඩයේ හෝ සේවාවේ ගුණාත්මක බව
* මෝස්තරය/ මාදිලිය
* නිෂ්පාදනය කළ රට/ ආයතනය
* වෙළෙඳ නාමය හෙවත් සන්නම් නාමය
* නිෂ්පාදිත දිනය, කල් ඉකුත් වන දිනය
* ලබා ඇති ප්‍රමිති සහතික
* වගකීම් සහතිකය
* බාහිර පෙනුම හෙවත් නිමාව

**ක්‍රියාකාරකම 4.4**

(i). ඔබේ පන්ති කාමරයේ ඇති භාණ්ඩ දහයක ලැයිස්තුවක් සකස් කරන්න.

(ii). ඔබට හා ඔබේ පවුලේ සාමාජිකයන්ට අවශ්‍ය වන සේවා දහයක් ලියන්න.

(iii). ඔබට පහත සඳහන් භාණ්ඩ මිල දී ගැනීමට අවශ්‍ය ව ඇතැයි සිතන්න.

ඒවා මිල දී ගැනීමට පෙර කවර සාධක සලකා බැලිය යුතු දැයි වැඩිහිටියන් සමඟ සාකච්ඡා කර ලියන්න.

* පාසල් පොත් බෑගයක්
* අභ්‍යාස පොතක්
* විස්කෝතු පෙට්ටියක්

## ජන ජීවිතය පහසු කරන ප්‍රාදේශීය සැපයුම්කරුවන්

අපගේ දෛනික අවශ්‍යතා හා වුවමනා සපුරා ගැනීමට අවශ්‍ය වන භාණ්ඩ හා සේවා වැඩි ප්‍රමාණයක් මිල දී ගනු ලබන්නේ වෙළෙඳපොළෙනි. වෙළෙඳපොළ එක් ස්ථානයක පමණක් නොව විශාල ප්‍රදේශයක පැතිර පවතී. ආසන්න ප්‍රදේශය පුරා පැතිර තිබෙන සියලු ම වෙළෙඳපොළවල් ගත් විට එය ප්‍රාදේශීය වෙළෙඳපොළ යි. ප්‍රාදේශිය සැපයුම්කරුවන්ගෙන් මෙම වෙළෙඳපොළ නිර්මාණය වේ.

ඒ ඒ ප්‍රදේශවල ජීවත් වන පුද්ගලයන්ට අවැසි පරිදි තෝරා ගැනීමට විවිධ භාණ්ඩ හා සේවා සැපයීමට අදාළ ව කෙරෙන කටයුතු, ව්‍යාපාර කටයුතු ලෙස හැඳින්වේ. වෙළෙඳපොළ ප්‍රාදේශීය ව පමණක් නොව ජාතික මට්ටමින් මෙන් ම අන්තර්ජාතික මට්ටමින් ද ව්‍යාප්ත ව තිබේ.

## භාණ්ඩ හා සේවා සැපයීමේ නිරත විවිධ පුද්ගලයන්

පුද්ගලයන්ගේ දක්ෂතා, හැකියාවන්, වෘත්තිය පුහුණුව හා කැමැත්ත අනුව තම ධනය හා ශ්‍රමය කැප කර විවිධ ව්‍යාපාර කටයුතුවල නිරත වන පුද්ගලයන් සෑම ප්‍රදේශයක ම දැකිය හැකි ය. ඔවුහු මහජනයා සමඟ ඉතා සමීප ව කටයුතු කරති. එවැනි පුද්ගලයන් කිහිප දෙනෙකු පහත රූප සටහනේ දැක්වේ.



වෙළෙන්දා



රියදුරා



සපත්තු මහන්නා



කරණවැමියා

## භාණ්ඩ හා සේවා සපයන විවිධ ආයතන

වර්තමාන වෙළෙඳපොළ ගැණුම්කරුවෝ විශාල පිරිසක් සිටිති. ඔවුහු රුචිකත්වය, ආදායම, වයස් මට්ටම, ස්ත්‍රී පුරුෂ භාවය, ජන වර්ගය වැනි ලක්ෂණවලින් විවිධ වෙති. වෙළෙඳපොළ පවතින මේ තත්ත්වය නිසා පෞද්ගලික මෙන් ම රජයේ ආයතන සහ විවිධ සංවිධාන රාශියක් ජනතාවට අවශ්‍ය භාණ්ඩ හා සේවා සැපයීමට ඉදිරිපත් වී සිටියි. එවැනි ආයතන කිහිපයක් පහත දැක්වේ.



සමුපකාරය



පාසල



රෝහල



පොලිසිය



බැංකුව



සුපිරි වෙළෙඳසැල

## සැපයුම්කරුවන් වන ප්‍රාදේශිය සංවිධාන

අපගේ වුවමනා සපුරාලීම සඳහා විවිධ ආයතන සහ සංවිධාන භාණ්ඩ හා සේවා සපයයි. තනි පුද්ගලයන් වශයෙන් කටයුතු කරනවාට වඩා කණ්ඩායමක් ලෙස සංවිධානය වීමෙන් භාණ්ඩ හා සේවා සැපයීම පහසුවෙන් හා හොඳින් කළ හැකි ය. මෙසේ පුද්ගල කණ්ඩායම් ලෙස සංවිධානය වී සැපයීම් කටයුතු කරන්නේ ආයතන හෝ සංවිධාන යි. ආයතන වශයෙන් ක්‍රියාත්මක වීමේ දී යම් සංවිධානයක් නීතිමය රාමුවක් තුළ කටයුතු කළ යුතු ය. සියලු ම ආයතන සංවිධානයන් වන අතර සමහර සංවිධාන ආයතන ගණයට නොවැටෙන බව ද මෙහි දී සඳහන් කළ යුතු ය.

## ප්‍රාදේශීය සැපයුම්කරුවන්ගේ වැදගත්කම

ප්‍රදේශීය සැපයුම්කරුවන් විසින් විවිධ භාණ්ඩ හා සේවා වෙළෙඳපොළට ඉදිරිපත් කිරීම නිසා අපගේ විවිධ වුවමනාවන් සපුරා ගැනීමට අවශ්‍ය දෑ වෙළෙඳපොළෙන් මිල දී ගත හැකි වේ. එමෙන් ම භාණ්ඩ හා සේවා සැපයීමට සම්බන්ධවන්නන් වැඩි වීමෙන් වෙළෙඳපොළ තරගකාරීත්වය වැඩි වේ. සැපයුම්කරුවන් වැඩි වෙන විට පාරිභෝගික ජනතාවට ගුණාත්මක බවින් උසස් භාණ්ඩ හා සේවා සාධාරණ මිලකට තෝරා ගැනීමට ලැබෙන ඉඩකඩ ද වැඩි වේ.

ප්‍රාදේශීය සැපයුම්කරුවන් වැඩිවීමෙන් ඇති වන වාසිදායක තත්ත්වයන් කිහිපයක් පහත සඳහන් වේ.

- භාණ්ඩ හා සේවාවල මිල පහළ යාම
- උසස් ගුණාත්මක භාණ්ඩ හා සේවා බහුල වීම
- තෝරා ගැනීමේ අවස්ථා වැඩි වීම
- ප්‍රදේශය දියුණු වීම
- ජීවන මට්ටම ඉහළ යාම
- ප්‍රදේශය තුළ ජනිත වන රැකියා අවස්ථා වැඩි වීම

### ලාභ අරමුණක් ඇති හා ලාභ අරමුණක් නොමැති ව්‍යාපාර කටයුතු

අපට ජීවත් වීමට අවශ්‍ය විවිධ භාණ්ඩ හා සේවා සැපයීමේ නිරත පුද්ගලයන්, ආයතන හා සංවිධාන විශාල ගණනක් වෙළෙඳපොළ කටයුතු හසුරුවයි. මේ ආයතන බොහොමයක් සිය ව්‍යාපාර කටයුතුවලින් අපේක්ෂා කරනුයේ ලාභ ලැබීම යි. ලාභ ඉපයීමේ අරමුණු ඇති ව පවත්වාගෙන යන එවැනි ආයතන කීපයක් පහත දැක්වේ.

* සිල්ලර වෙළෙඳසැල්
* පෞද්ගලික රෝහල්
* ඉන්ධන පිරවුම්හල්
* සුපිරි වෙළෙඳසැල්
* ආපනශාලා
* රූපලාවන්‍ය ආයතන
* වාණිජ බැංකු
* පෞද්ගලික අධ්‍යාපන ආයතන
* පෞද්ගලික පාසල්
* සංචාරක හෝටල්

දෛනික ජන ජීවිතය පවත්වාගෙන යාමට අවශ්‍ය වන භාණ්ඩ හා සේවා සැපයීමේ නිරත රජයේ ආයතන පවත්වාගෙන යාමට මුදල් ලබා දෙන්නේ රජය යි. ගම් මට්ටමින් හෝ නාගරික බල ප්‍රදේශවල හෝ ජීවත් වන ජනතාව සාමූහික ව එකතු වී ඔවුන්ගේ සුබ සාධනය වෙනුවෙන් පිහිටුවා ගත් සමිති සංවිධාන ද ඒ ඒ ප්‍රදේශ තුළ භාණ්ඩ හා සේවා සැපයීමේ නිරත ව සිටියි. මේ ආයතන හා සංවිධාන මෙහෙයවන ව්‍යාපාර කටයුතු ලාභ ලැබීමේ අරමුණකින් තොර ව පවත්වාගෙන යයි. ප්‍රදේශයේ ජනතාවට මේ ආයතන විශාල සේවයක් ඉටු කරයි.

පහත දැක්වෙන්නේ එවැනි ආයතන කිහිපයකි.

* රජයේ රෝහල්
* රජයේ පාසල්
* අධිකරණ ආයතන
* ශ්‍රී ලංකා පොලිසිය
* ත්‍රිවිධ හමුදාව
* පුස්තකාල ආයතන
* සමුපාකාර සමිති
* මරණාධාර සමිති
* ක්‍රීඩා සමිති
* නිදහස් ආයුර්වේද බෙහෙත් ශාලා

**ක්‍රියාකාරකම 4.5**

ඔබ ජීවත් වන ප්‍රදේශයේ ඇති ලාභ ඉපයීමේ අරමුණක් නොමැති ව පවත්වාගෙන යනු ලබන තවත් ආයතන හා සංවිධාන පිළිබඳ තොරතුරු ගොනුවක් සාදන්න. ඒ සඳහා ඔබේ වැඩිහිටියන්ගෙන් උපකාර ලබා ගන්න.

# මුදල් වර්ධනයට සොයමු නිසි ඉපයීම් මාර්ග

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- දෛනික ඉතිරිකිරීම් සඳහා යොමු වීමට
- ඉපැයීම් සඳහා මුදල් යෙදවීමට හැකි මාර්ග සෙවීමට
- ඉපැයීම් සඳහා මුදල් යෙදවීමට

හැකියාවක් ලැබෙනු ඇත.

පවුල සමාජයේ ඇති කුඩා ම සංවිධානගත ඒකකය යි. අම්මා, තාත්තා දරුවන් සහ ආච්චි, සීයා වැනි වැඩිහිටියන් පවුලේ සාමාජිකයන් ය. පවුලේ සාමාජිකයන්ගේ යැපීමට අවශ්‍ය ආදායම් ඉපයීම පියා, මව ඇතුළු වැඩිහිටි සාමාජිකයන් රැකියාවක නිරත වීම මගින් සිදු වෙයි. රැකියාවෙන් ලබන ආදායමට අමතර ව වෙනත් අමතර ඉපයීම් මාර්ගයකට යොමු වීමට වැඩි දෙනෙක් උත්සාහ කරති.

පවුලේ ආදායම සම්පූර්ණයෙන් ම එදිනෙදා අවශ්‍යතා හා වුවමනා සපුරා ගැනීමට වැය කිරීම බුද්ධිමත් කටයුත්තක් නොවේ. බලාපොරොත්තු නොවන ආකාරයේ හදිසි කරදර, විපත් ඕනෑ ම කෙනකුට සිදු විය හැකි ය. එවැනි අවස්ථාවලට මුහුණ දීමට සෑම කෙනකු ම තම ආදායමින් කොටසක් ඉතිරි කිරීමට උත්සාහ කළ යුතු ය. එම ඉතිරි කිරීම් යම් ඉපයීම් මාර්ගයක යෙදවීමටත් එමගින් අවස්ථාව උදා වේ.

## දෛනික ඉතිරිකිරීම්

පාසල් ශිෂ්‍යයකු වන ඔබට ද උත්සාහ කළහොත් දිනපතා ම යම් කිසි මුදලක් ඉතිරි කිරීම අපහසු නොවේ. අධ්‍යාපන කටයුතුවල දී මෙන්ම ගමන්-බිමන් යාමේ දී ද දෙමවුපියන්ගෙන් ලැබෙන මුදල් අරපිරිමැස්මෙන් වියදම් කිරීමෙන් ඉතිරි කිරීමට යොමු විය හැකි යි. පොඩි මුදලකින් ඔබට ඉතිරි කිරීම ආරම්භ කළ හැකි ය. එයින් මානසික සතුටක් ද ලැබෙනු ඇත. නිවසක එදිනෙදා වැඩ කටයුතු පවුලේ සාමාජිකයන්ගේ ශ්‍රමය හා කාලය කැප කොට සාමූහික ව එකතු වී සිදු කර ගත හොත් සැලකිය යුතු මුදලක් පවුල තුළ ඉතුරු වේ.

නිදසුනක් ලෙස නිවසේ මිදුල අලංකාර කිරීම කම්කරුවකුට කුලියක් ගෙවා කරගන්නවා වෙනුවට පවුලේ සාමාජිකයන් එකතු වී කර ගැනීම දැක්විය හැකි ය. ඔබට මෙන් ම පවුලේ අනෙකුත් සාමාජිකයන්ට ද ඉතිරි කිරීම සඳහා යොමු විය හැකි ආකාරය පිළිබඳ ව මෙයින් අවබෝධයක් ලැබෙනු ඇත.


මිටි සහල් මුට්ටිය


කැටය


ඉතිරි කිරීමේ තැන්පතු

පැරණි සමාජයේ මෙන් ම වර්තමානයේ ද පිළිගැනීම වන්නේ ඉතිරි කිරීම ඉතා හොඳ පුරුද්දක් බව යි. ඉතිරි කළ හැක්කේ ඉහළ ආදායම් ලබන්නන්ට බවත් අඩු ආදායම් ලාභීන්ට ඉතිරි කළ නොහැකි බවත් සිතීම වැරදි මතයකි. කුඩා අවධියේ සිට ම ක්‍රමානුකූල ව ඉතිරි කිරීමට යොමු වීමෙන් කවර තරාතිරමක පුද්ගලයකුට වුව ද එම පුරුද්ද ජීවිත කාලය පුරා ම පහසුවෙන් පවත්වාගෙන යා හැකි යි.

### ඉතිරි කිරීමට මඟ පෙන්වන මිටි සහල් මුට්ටිය

ඉතිරි කළ යුත්තේ ටිකෙන් ටික බවට අතීත ශ්‍රී ලාංකික ජන සමාජයේ ගෘහණියන්ගේ මුළුතැන්ගෙයි තිබුණු මිටි සහල් මුට්ටිය කදිම ආදර්ශයක් සපයයි. සෑම වේලකට ම වෙන් කර ගත් සහල් ප්‍රමාණයෙන් මිටක් බැගින් අයින් කර තැබීමට යොදාගත් මුට්ටිය මිටි සහල් මුට්ටිය යි. දවසින් දවස පිරෙන මේ මුට්ටිය හදිසි අවස්ථාවක දී හෝ ගෙදර සහල් නැති අවස්ථාවක දී හෝ ප්‍රයෝජනයට ගැනෙයි. මේ ආකාරයට කෙනෙකු ලබන ආදායමින් සුළු මුදලක් හෝ නොකඩවා ම ඉතිරි කිරීමට පුරුදු වුවහොත් සැලකිය යුතු මුදලක් පහසුවෙන් ම ඉතිරි කර ගත හැකි වේ.

### කාසි කැටය පිරෙයි සිතට සතුට රටට සවිය ගෙනෙයි

ලොකු කුඩා භේදයකින් තොර ව බොහෝ පුද්ගලයෝ කාසි කැට එකතු කිරීමට රුචිකත්වයක් දක්වති. ගොම මැටි ගෑ අපේ පැරණි නිවෙස්වල වැඩිපුර නෙත නොගැටෙන මුල්ලක වල දමූ කැටයක කාසි එකතු කිරීමේ පුරුද්දක් තිබුණි. අද බැංකු මෙන් ම වෙනත් මූල්‍ය ආයතන ද දරුවන්ගේ ඉතිරි කිරීමේ පුරුද්ද වැඩි කිරීමට කාසි එකතු කරන කැට විවිධ අවස්ථාවල දී තෑගි ලෙස ලබා දෙයි. ඔබටත් එවැනි කැටයක පහසුවෙන් කාසි එකතු කළ හැකි ය. දවසින් දවස මේ කැටය පිරෙන විට ඔබේ සිතට ලොකු සතුටක් දැනේවි. ඒ මුදල් ඔබේ බැංකු ගිණුමක තැන්පත් කිරීමෙන් ලොකු මුදලක් ඉතිරි කර ගත හැකි ය. බැංකුවලට ගලාගෙන එන එම මුදල් අපේ රටේ සංවර්ධනයට ආයෝජනය කිරීමෙන් රටේ දියුණුවට උරදෙන කොටස්කරුවකු වෙන්නත් ඔබට පුළුවන්.

**සැලකිය යුතු ය.**

කැටවල එකතු කරන මාරු කාසි ඉතා ඉක්මණින් බැංකුවල තැන්පත් කිරීම අපගේ වගකීමකි. දිගුකාලයක් කැටවල කාසි තිබීමෙන් අපේ රටේ ගනු-දෙනු කිරීමට මාරු කාසිවල හිඟයක් ඇති විය හැකි යි. නැවත කාසි නිපදවීමට විශාල මුදලක් වැය වෙන බව ඔබ දන්නවා ද ?

### නාස්තිය පිටු දකිමු - ඉතිරි කිරීමට උදව් වෙමු



අනවශ්‍ය විදුලි පහන් නිවා දමමු



ජලය අපතේ නොයවමු



එකවර රෙදි මදිමු



සුදුනම් වී වෙළඳපොළට යමු

ඉහත දැක්වෙන පින්තූර පෙළ හොඳින් නිරීක්ෂණය කරන්න. නිවසක එදිනෙදා වියදම සැලකිය යුතු තරම් මට්ටමකින් අඩු කර ගැනීමට ඉතා පහසුවෙන් කළ හැකි කාර්යයන් කිහිපයක් එහි දැක්වේ. නිවසේ සෑම සාමාජිකයකු ම ක්‍රියාකාරී ව මේ සඳහා දායක විය යුතු ය.

නිවසේ දෛනික කටයුතුවල දී නොසැලකිල්ලෙන් කටයුතු කිරීම හේතුවෙන් අපතේ යන සම්පත් ප්‍රමාණය ඉතා අධික ය. සම්පත් අපතේ යාම මගින් සිදු වන්නේ මුදල් නාස්තියකි. අනවශ්‍ය වියදම් කපා හැර සම්පත් අරපිරිමැස්මෙන් යුතු ව භාවිත කිරීම මගින් නිවසේ වියදම් අඩු කොට එමඟින් මුදල් ඉතිරි කර ගත හැකි ය.

ඒ සඳහා පහසුවෙන් කළ හැකි කාර්යයන් කිහිපයක් මෙසේ ය.

* දිවා සහ රාත්‍රී කාලයේ දී අනවශ්‍ය ලෙස දල්වා ඇති විදුලි පහන් නිවා දැමීම
* විදුලි ස්ත්‍රික්කය භාවිත කිරීමේ දී වැඩි රෙදි ප්‍රමාණයක් එක වර මැද ගැනීම
* නිවසේ ජල කරාමවලින් කාන්දු වී අපතේ යන ජල ප්‍රමාණය වළක්වා ගැනීම
* වෙළෙඳපොළට යාමට පෙර මිල දී ගැනීමට අවශ්‍ය ම භාණ්ඩ ලැයිස්තුවක් සකස් කර ගැනීම
* වෙළෙඳපොළෙන් භාණ්ඩ මිල දී ගැනීමේ දී අවශ්‍ය ම දේවල් පමණක් මිල දී ගැනීම
* අවශ්‍ය ප්‍රමාණයට පමණක් ආහාර පිස ගැනීම
* අනවශ්‍ය පරිදි වැඩි වාර ගණනක් හා වැඩි වේලාවක් ශීතකරණය විවෘත නොකිරීම
* එළවළු හා පලතුරු අපතේ යාම වළක්වා ගැනීම සඳහා කැපීමේ දී මුවහත් හා සුදුසු උපකරණ භාවිත කිරීම
* බෝතල්, ඇසුරුම් බෑග්, වැනි දෑ නැවත නැවත වැඩි වාර ගණනක් පාවිච්චි කිරීම
* අභ්‍යාස පොත්, පෑන්, පාට කුරු, පැන්සල් වැනි පාසල් උපකරණ නාස්ති නොකර නිසි ලෙස පරිහරණය කිරීම

**ක්‍රියාකාරකම 4.5**

ඔබගේ නිවසේ අනවශ්‍ය වියදම් අඩු කර ඉතිරි කිරීම සඳහා යොමු වීමට ඔබට සහ පවුලේ අනෙකුත් අයට ගත හැකි ක්‍රියාමාර්ග ලැයිස්තුවක් සකස් කරන්න.

## උපයමු - සතුටු වෙමු - දියුණු වෙමු

පොළී ආදායමක් හෝ ලාභයක් ඉපයීමේ අරමුණින් මුදල් යෙදවිය හැකි මාර්ග ගණනාවක් තිබේ. ඒ සඳහා ඔබට කළ හැකි පහසු ම මාර්ගය ඉතිරි කිරීමේ ගිණුමක මුදල් තැන්පත් කර පොළිය උපයා ගැනීම යි. නිර්මාණශීලී හැකියා-වන් ඇති අය සරුංගල්, වෙසක් පහන් කූඩු, සුබ පැතුම් පත් වැනි දෑ නිපදවා අලෙවි කර මුදල් උපයයි.

පවුලේ සාමාජිකයන්ට ද මේ ආකාරයට මුදල් ඉපයිය හැකි මාර්ග රාශියකි. නිවසේ වැඩිහිටියන්ගේ මුදල් හා ශ්‍රමය කැප කර කුඩා සිල්ලර වෙළඳසැලක් කරගෙන යාම එවැනි එක් මාර්ගයකි. පහසුවෙන් කරගෙන යා හැකි තවත් ඉපයීම් මාර්ග කිහිපයක් පහත දැක්වේ.



විසිතුරු පත්‍රික ශාක වගාව



විසිතුරු ආභරණ සෑදීම



ගෙවතු වගාව



බිම් මල් වගා කිරීම



පාපිසි, කොට්ටා උර මැසීම

## විවේක කාලය ස්වයං රැකියාවන් සඳහා කැප කරමු

රැකියාවක නිරත වන කෙනකුට ලැබෙන විවේක කාලය තුළ විවිධ ස්වයං රැකියා කිරීම මගින් අමතර ආදායමක් උපයා ගත හැකි ය.

තමන්ගේ ම ශ්‍රමයෙන් පවත්වාගෙන යනු ලබන මෙවැනි ස්වයං රැකියා කටයුතුවල නිරත වීමෙන් අමතර ආදායමක් ලබා ගත හැකි වන අතර පුද්ගලයකුට එමගින් විවිධ ප්‍රතිලාභ ලැබිය හැකි ය.

- විවේකය අර්ථවත් ලෙස ගත කිරීම
- මානසික සතුටක් ලැබීම
- පුද්ගල දක්ෂතා වර්ධනය වීම
- වෘත්තිය පුහුණුවක් ලැබීමට අවස්ථා සැලසීම
- සමාජ සම්බන්ධතා වර්ධනය වීම
- සමාජ පිළිගැනීම හා කීර්තිනාමය වර්ධනය වීම
- පවුලේ සාමාජිකයන් අතර සහයෝගය වර්ධනය වීම
- ව්‍යාපාරික ක්ෂේත්‍රයේ ඉදිරියට යාමට අවස්ථාවක් ලැබීම

## මූල්‍ය ආයතනයක තැන්පතු ආරම්භ කිරීම

බැංකු සහ වෙනත් මූල්‍ය ආයතනවල මුදල් ඉතිරි කිරීමෙන් ද පුද්ගලයකුට අමතර ආදායමක් ඉපයීමට හැකි වේ. පොළී ආදායමක් එමගින් ලැබිය හැකි අතර අවශ්‍ය වේලාවක ඉතිරි කළ මුදල් ආපසු ලබා ගැනීමේ පහසු මාර්ගයක් වශයෙන් ද එය ජනප්‍රිය වී තිබේ. රජයට හා පෞද්ගලික අංශයට අයිති මූල්‍ය ආයතන විශාල ගණනක් වර්තමානයේ ශ්‍රී ලංකාව තුළ ක්‍රියාත්මක වේ. පෞද්ගලික ආයතනවල විශ්වාසවන්තභාවය ගැන සොයා බැලීම අනිවාර්යයෙන් ම කළ යුත්තකි. එයට හේතුව වංචනික මූල්‍ය ආයතන රටේ විවිධ ප්‍රදේශවල ක්‍රියාත්මක වීම යි.

**මුදල් තැන්පත් කළ හැකි ආයතන**

1. වාණිජ බැංකු
2. ඉතිරි කිරීමේ බැංකු
3. සංවර්ධන බැංකු
4. සමුපකාර ග්‍රාමීය බැංකු
5. සමෘද්ධි බැංකු
6. සමුපකාර හා ණය දෙන සමිති (සණස)
7. මූල්‍ය සමාගම්

ශ්‍රී ලංකා මහ බැංකුවේ ලියාපදිංචි මූල්‍ය ආයතනයක මුදල් ඉතිරි කිරීමට පෙළඹීම, අඩු අවදානමක් සහිත බුද්ධිමත් තීරණයකි.

# සොයමු අපි භාණ්ඩයක ද්‍රව්‍ය වියදම පමණක්

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,
- නිම කළ භාණ්ඩයේ අඩංගු ද්‍රව්‍ය හා ප්‍රමාණයන් විමසා බැලීමට
- ද්‍රව්‍ය වියදම් පදනම් කර ගනිමින් නිෂ්පාදන වියදම ගණනය කිරීමට
- නිෂ්පාදන වියදම ගණනය හා වාර්තාකරණයට පැතුරුම්පත් මෘදුකාංගය යොදා ගැනීමට
- නිෂ්පාදන වියදම අවම කිරීමේ ක්‍රමවේද යෝජනා කිරීමට

හැකියාවක් ලැබෙනු ඇත.

භාණ්ඩයක් නිපදවීමට විවිධ ද්‍රව්‍ය අවශ්‍ය වේ. යම් භාණ්ඩයක් නිපදවීමට වැය කරන වියදම්වලින් වැඩි ම ප්‍රමාණයක් දරනු ලබන්නේ එම ද්‍රව්‍ය සඳහා ය. ඔබේ පාසල් නිල ඇඳුම නිපදවීමට පාවිච්චි කර ඇති ද්‍රව්‍ය ලැයිස්තුවක් පහත දැක්වේ.

* රෙදි
* නූල්
* බොත්තම්
* සැන ගාංචු

**ක්‍රියාකාරකම 4.6**

පහත සඳහන් එක් එක් ද්‍රව්‍ය හෝ භාණ්ඩ නිපදවීමට යොදාගෙන ඇති ද්‍රව්‍ය මොනවා දැයි සොයා බලා ඒවා වෙන වෙන ම ලියන්න.


සිමෙන්ති ගල්


එළවළු රොටී


බෙරය


මේසය

භාණ්ඩයක් නිපදවීමට අවශ්‍ය විවිධ ද්‍රව්‍ය හඳුනාගත් අපි දැන් කිසියම් භාණ්ඩයක් නිපදවීමේ දී එහි අමුද්‍රව්‍ය සඳහා පමණක් වැය වන මුදල පිළිබඳ ව සොයා බැලීමට යොමු වෙමු.

උදාහරණ :-.

ගෘහ කර්මාන්තයක් ලෙස ඉදල් නිපදවන පුද්ගලයකු ඉදල් 10ක් නිපදවීමට ඉදිරිපත් කළ වියදම් තොරතුරු පහත සඳහන් පරිදි දැක්විය හැකි ය.

| අවශ්‍ය ද්‍රව්‍ය | ප්‍රමාණය | මුදල<br>රු. ශත |
|---|---|---|
| 1. ඉරටු | මිටි 10 | 200 . 00 |
| 2. ලී මිට | මිටවල් 10 | 150 . 00 |
| 3. තහඩු | කැබලි 10 | 50 . 00 |
| 4. යකඩ ඇණ | ග්‍රෑම් 250 | 75 . 00 |
| මුළු වියදම | | 475 . 00 |

$$\text{එක් ඉදලක ද්‍රව්‍ය වියදම} = \frac{\text{රු. } 475}{10} = \underline{\underline{\text{රු. } 47.50}}$$



$$\text{ඒකකයක ද්‍රව්‍ය වියදම} = \frac{\text{මුළු ද්‍රව්‍ය වියදම}}{\text{නිපදවූ ඒකක ගණන}}$$

ද්‍රව්‍ය සඳහා වූ වියදම, භාණ්ඩයක නිෂ්පාදන වියදම තීරණය කෙරෙන ප්‍රධාන ම සාධකයක් බව ඔබට දැන් පැහැදිලි වෙනවා ඇත. මේ ද්‍රව්‍ය අපතේ නොයවා, ක්‍රමානුකූල ව පාවිච්චි කළ හොත් වියදම අඩු කර ගත හැකි ය.

ද්‍රව්‍ය වියදම අඩු කර ගත හැකි ක්‍රම කිහිපයක් සලකා බලමු.

* ද්‍රව්‍ය එක වර මිල දී ගෙන මිල වාසි ලබා ගැනීම
* අපතේ නොයන පරිදි අවශ්‍ය ප්‍රමාණ කලින් තීරණය කළ මිලට ගැනීම
* ආසන්න ම ස්ථානයකින් මිලට ගෙන ප්‍රවාහන වියදම් අඩු කර ගැනීම
* ප්‍රමිතියෙන් තොර බාල ද්‍රව්‍ය මිලට නොගැනීම
* තරගකාරි මිල ගණන් ආයතන කිහිපයකින් විමසා බලා මිල අඩු ම ආයතනවලින් මිලට ගැනීම

**ක්‍රියාකාරකම 4.7**

මේස 5ක් සෑදීමට අවශ්‍ය ද්‍රව්‍ය ලැයිස්තුවක් පහත දැක්වේ.

| | |
|---|---|
| අඩි 2×2 ලී අඩි 50 යි | (අඩියක මිල රු. 20/=) |
| ලෑලි වර්ග අඩි 60 යි | (වර්ග අඩියක මිල රු. 115/=) |
| අඟල් 4 පළල රේගල් පටි 60 යි | (පටියක මිල රු. 50/=) |
| යකඩ ඇණ 500 g යි | (ග්‍රෑම් 500 g ක මිල රු.150/=) |

(i). මෙම තොරතුරු සැලකිල්ලට ගෙන එක් මේසයක් සඳහා වූ ද්‍රව්‍ය වියදම ගණනය කරන්න.

(ii). මෙම මිල ගණන්, ලීවල වර්ගය අනුවත් මිලට ගන්නා කාලය අනුවත් වෙනස් වේ. වර්තමානයේ ඒවායේ වෙළඳපොළේ මිල ගණන් ඔබේ වැඩිහිටියන්ගෙන් අසා දැන ගන්න.

## නිෂ්පාදන වියදම ගණනය හා වාර්තාකරණයට පැතුරුම්පත් මෘදුකාංගය ( Spread Sheets) යොදා ගනිමු

ව්‍යාපාර කටයුතු සාර්ථක ව හා ක්‍රමවත් ව පවත්වාගෙන යාමේ දී ගිණුම් කටයුතු සටහන් කිරීම උදෙසා පරිගණක මෘදුකාංග බෙහෙවින් උපකාරි වේ. මේ සඳහා පහත සඳහන් පැතුරුම්පත් (Spread Sheets) මෘදුකාංග බහුල ව භාවිත කරනු ලැබේ.

- 'Microsoft Office' හි Excel මෘදුකාංගය
- 'LibreOffice' හි Calc මෘදුකාංගය

පාසල් පරිගණක විද්‍යාගාරවල භාවිත වන ඉසුරු ලිනක්ස් (Isuru Linux) මෙහෙයුම් පද්ධතියේ (Operating System) ඇති 'LibreOffice Calc' පැතුරුම්පත් මෘදුකාංගය භාවිත කරන ආකාරය මෙහි විස්තර කර ඇත.

මෘදුකාංගයකට පිවිසීම සඳහා පරිගණක තිරයේ ඇති 'Dash Home' මත ක්ලික් කිරීමෙන් ලැබෙන සෙවුම් තීරුවේ 'Calc' නම යතුරු ලියනය කිරීමෙන් හෝ  නිරූපකය (icon) මත ක්ලික් කිරීමෙන් 'LibreOffice' මෘදුකාංගය විවෘත කර ගත හැකි ය. මෘදුකාංගය විවෘත කිරීමේ දී ඔබට පෙනෙන අතුරු මුහුණත (Interface) පහත සඳහන් පරිදි වේ.




1 Dash Home
2 Standard Tool Bar
3 Formatting Tool Bar
4 Name Box
5 Column
6 Row
7 Sheet Name
8 Work Sheet
9 Cell

ඔබ මීට ප්‍රථම ඉගෙන ගෙන ඇති වදන් සැකසුම් මෘදුකාංගය ආධාරයෙන් ලේඛලයක් පිළියෙල කිරීමේ දී ඔබ අධ්‍යනය කළ

* සම්මත මෙවලම් තීරුව - Standard Tool Bar
* හැඩසව් මෙවලම් තීරුව - Formatting Tool Bar

යන මෙවලම් තීරුවල අවබෝධය සහිත ව පහත කරුණු අධ්‍යයනය කරමු.

කෝෂය (Cell) - ඔබට පෙනෙන අතුරු මුහුණතෙහි (Interface) දක්නට ලැබෙන කුඩා කොටුවක් කෝෂයක් ලෙස හැඳින්වේ.

වැඩපත (Work Sheet) - ඉහත සඳහන් කළ කෝෂ ගණනාවක් අඩංගු මුහුණත හෝ පිටුව වැඩපත නම් වේ.

තීරුව (Column) - වැඩපතෙහි ඉහළ සිට පහළට දිව යන කෝෂ සමූහය A, B, C, D, .......... ලෙස නම් කර ඇත. එම කොටස් තීරු නම් වේ.

පේළිය (Row) - වැඩපතෙහි හරස් අතට පිහිටන කෝෂ සමූහය 1,2,3,4..... ලෙස පහළට අංකනය කර ඇත. මේවා පේළි නමින් හැඳින්වේ.

**කෝෂ ලිපිනය (Cell Address) -** පේළියක් සහ තීරුවක් හමු වන කෝෂය සඳහා එහි පිහිටීම දක්වන ලිපිනයක් ඇත. ඉහත රූපයෙන් පෙන්වා ඇති 9 කෝෂයේ ලිපිනය C7 වේ.

**නාම කොටුව - (Name Box) -** පේළි සහ තීරු සංඛ්‍යාව වැඩි නම් එම දත්ත ඇතුළු කළ කෝෂය (Cell) දර්ශනය නොවේ. Name Box මත ඉංග්‍රීසි අක්ෂරයත් අංකයත් යතුරු ලියනය (Type) කිරීමෙන් ක්ෂණික ව නියමිත කෝෂය (Cell) වෙත යා හැකි ය.

**සූත්‍ර කොටුව - (Formula Box) -** කෝෂයක් (Cell) මත මූසිකය (Mouse) ක්ලික් (Click) කළ විට එම කෝෂය තුළ සඳහන් වී ඇති දත්ත සියල්ල සූත්‍ර කොටුව තුළ දිස් වේ. කෝෂයකට දත්ත ඇතුළත් කිරීම සඳහා සූත්‍ර කොටුව භාවිත කිරීමට ද හැකි ය.

ද්‍රව්‍ය පදනම් කරගත් නිෂ්පාදිතවල වියදම ගණනය කිරීම සඳහා මෙම මෘදුකාංගය භාවිත කළ හැකි ය.

A, B, C, හා D තීරුවල ඇති කෝෂ මත අපට පහත අයුරින් දත්ත ඇතුළු කළ හැකි ය. ඒ සඳහා අදාළ කෝෂය මතට මූසිකය ගෙන ගොස් එය සක්‍රිය කර, සූත්‍ර කොටුව තුළ යතුරුලියනය (Type) කරන්න.

**ක්‍රියාකාරකම 4.8**

| | A | B | C | D |
|---|---|---|---|---|
| 1 | අනුඅංකය | ද්‍රව්‍ය නාමය | ප්‍රමාණය | වටිනාකම |
| 2 | 1 | ගම්මිරිස් | 50 kg | 50000 |
| 3 | 2 | ඉටිකවර | 1kg | 300 |
| 4 | 3 | කඩදාසි | 1kg | 20 |
| 5 | 4 | ද්‍රව්‍ය පදනම් කරගත් වියදම | | D5 (= SUM (D 2: D 4)) |
| 6 | 5 | නිපදවූ ඒකක ගණන | 36 | D6 (= D5/C6) |

ද්‍රව්‍ය පදනම් කරගත් වියදම D5 කෝෂයෙහි සඳහන් විය යුතු යි. මේ සඳහා සූත්‍ර කොටුව තුළ පහත සඳහන් සූත්‍රය යතුරුලියනය කරන්න.

= SUM (D2:D4) → Enter

D2:D4 යනු අප එකතු කිරීමට යන අගයයන් ඇති කෝෂ අඩංගු සීමාව යි. එම සීමාව නිවැරදි ව ඇතුළු කළ යුතු යි.

ඒකක නිෂ්පාදන වියදම සෙවීම සඳහා වියදම ඒකක ගණනින් බෙදිය යුතු වේ. එනම්, D5:D6 වේ. බෙදීම සඳහා යතුරු පුවරුවේ ඇති "/ " සලකුණ භාවිත කරන්න.

= D5/C6 → Enter

ඉහත සූත්‍රය මඟින් ඒකක නිෂ්පාදන වියදම ලබා ගත හැකි ය. සෑම විට ම සූත්‍රය, යතුරුලියනයේ දී සූත්‍රයට පෙර '=' ලකුණ යෙදිය යුතු ය.

# 05 තාක්ෂණික ක්ෂේත්‍රය - රූපණ

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- රේඛා භාවිත කර තලරූප ගොඩනැගීමට
- විධිමත් හා අවිධිමත් තල රූප නිදහස් අතින් ඇඳීමට
- විධිමත් හා අවධිමත් හැඩතල සංකලනයෙන් සරල රූප ගොඩනැගීමට
- සුදුසු මෘදුකාංගයක් භාවිතකර සරල රූප ඇඳීමට

හැකියාවක් ලැබෙනු ඇත.

## සරල රූප අඳිමු නිදහස් අතින්

පුරාණ කාලයේ දී පණිවිඩ හුවමාරුව සඳහා විවිධ ක්‍රම භාවිත කළ බව අපි දනිමු. එනම් අණ බෙර ගැසීම, දුම් ගැසීම, වර්ණ කොඩි භාවිතය සතුන්ගේ උපකාරයෙන් පණිවිඩ යැවීම, පණිවිඩකරුවකුගේ ආධාරයෙන් පණිවිඩ යැවීම ආදිය දැක්විය හැකි ය. පණිවිඩයක් රූපවලින් හෝ අකුරුවලින් සමන්විත ය.

පරිසරය නිර්මාණය වී ඇත්තේ විවිධ හැඩයන්ගෙනි. එහි හැඩතල දෙස පැහැදිලි ව බැලූ විට එය සරල රේඛා හා වක්‍ර රේඛාවලින් සමන්විත වී ඇති බව පෙනේ.



සරල රේඛා



වක්‍ර රේඛා

වචන භාවිතයෙන් විස්තර කිරීමට හෝ අකුරින් ලියා දැක්වීමෙන් පැහැදිලි කිරීමට හා අදහස් තේරුම් ගැනීමට හැකි වන අයුරින් ඉදිරිපත් කිරීම සඳහා සරල රූප භාවිත කළ හැකි ය.

එසේ අදහස් ප්‍රකාශ කිරීමේ මාධ්‍යයක් ලෙස තලරූප හැඳින්විය හැකි ය. මෙම තලරූප

- විධිමත් හැඩ
- අවිධිමත් හැඩ

වශයෙන් දැක්විය හැකි ය.

## තලරූප (Plain Figures)

විධිමත් තලරූපයක් නිදහස් අතින් හෝ ජ්‍යාමිතික උපකරණ භාවිත කර ඇඳීමට හැකියාව ඇති අතර එහි මිනුම් වශයෙන් දිග හා පළල පමණක් පෙන්නුම් කරන බැවින් එය ද්විමාන රූප ලෙස හැඳින්විය හැකි ය.

### විධිමත් හැඩ

නිදහස් අතින් විධිමත් තල රූප ඇඳීමට පහසු අතර එම විධිමත් තල රූප සඳහා නිශ්චිත නමක් හා හැඩයක් ඇත. එමෙන් ම සරල රේඛා දෙකකට වැඩි සංවෘත්ත රූප බහු අස්‍ර ලෙස හැඳින්වේ.

| විධිමත් හැඩ | |
| --- | --- |
| ත්‍රිකෝණ | වෘත්තය |
| චතුරස්‍රය | වෘත්ත කොටසක් |
| ෂඩාස්‍රය | අර්ධ වෘත්ත කොටසක් |

### අවිධිමත් හැඩ

අවිධිමත් හැඩ සඳහා නිශ්චිත නමක් යෙදිය නොහැකි අතර එය ද්විමාන හැඩයක් පමණි.



පන්ති කාමරයේ හෝ පරිසරයේ ඇති හැඩතල දෙස බලන්න. ඒවායේ හැඩතල නිදහස් අතින් ඇඳීමට ඔබට හැකි විය යුතු ය. එමෙන් ම නිදහස් අතින් අඳින ලද පහත රූපයේ දක්වා ඇති හැඩතලවල ඇති වක්‍ර රේඛා හා සරල රේඛා දෙවර්ගය පැහැදිලි ව වෙන් කර හඳුනා ගන්න.



විධිමත් හා අවිධිමත් හැඩතල එක් කිරීමෙන් සංකේත හා ලාංඡන නිර්මාණය කළ හැකි ය.

### සංකේත (Symbol)

සංකේතයක් අදහසක් ප්‍රකාශ කිරීමට යොදා ගනියි. උදාහරණ ලෙස දේශීය හා විදේශීය සංචාරකයන් ගැවසෙන ස්ථාන හා ප්‍රදේශවල ස්ථාන පිළිබඳ උපදෙස් ලබා දීම සහ මාර්ග සලකුණු දැක්විය හැකි ය.






### ලාංඡන (Logo)

අනන්‍යතාව පෙන්නුම් කිරීම සඳහා ලාංඡන භාවිත කරනු ලබයි. උදාහරණ වශයෙන් විවිධ රටවල්වල ධජ, විවිධ ආයතන, වෙළෙඳ නිෂ්පාදන, දෙපාර්තමේන්තු, සම්මේලන, ක්‍රීඩා උත්සව දැක්විය හැකි ය. ස්වකීය අනන්‍යතාව දක්වෙන විධිමත් රූප හා අවිධිමත් රූප සංකලනයෙන් යුතු ලාංඡන භාවිත කර ඇති ආකාරය පහත දක්වමු.

ඔබ පාසලේ හා අවට පාසල්වල ලාංඡන දෙස බලන්න. ඒ වෙනුවෙන් භාවිත කර ඇති විධිමත් හා අවිධිමත් රූප සඳහා විවිධ වූ අදහස් හා අර්ථකථන දක්වා ඇත. සෑම ලාංඡනයක් ම ස්වකීය අනන්‍යතාව දක්වන තල රූපයකි.

## සුදුසු මෘදුකාංගයක් භාවිත කර සරල රූප අඳිමු

පරිගණක භාවිතයේ දී විවිධ වර්ගයේ මෘදුකාංග පැකේජ භාවිත කරයි.

උදා: Microsoft Office
Libre Office

පරිගණක මෘදුකාංගයක් භාවිත කර සරල රූප ඇඳීම සඳහා Paint මෘදුකාංගය භාවිත කර නිදහස් අතින් සරල රූප ඇඳීම සහ වර්ණ ගැන්වීම පහසුවෙන් කළ හැකි ය. එම මෘදුකාංගයට පිවිසීම සඳහා පහත සඳහන් ක්‍රම දෙකෙන් ඕනෑ ම ක්‍රමයක් භාවිත කළ හැකි ය.

- Start → All Programs → Accessories → Paint
- පරිගණකයේ තිරය මත ඇති  නිරූපකය මත මූසිකය දෙවරක් ක්ලික් කිරීම.

Paint මෘදුකාංගයේ අතුරු මුහුණත මත ඇති මෙනුව (Menu) මත මුසිකයේ සලකුණ රැගෙන ගිය විට හෝ ඒ මත ක්ලික් කළ විට පහත දැක්වෙන තොරතුරු ලැබෙන අතර භාවිතය තුළින් එය ඉගෙන ගනිමු.




01. මාතෘකා තීරුව Title Bar
02. මෙනු තීරුව Menu Bar
03. අනුරූව මෙනුව Image
04. මෙවලම් මෙනුව Tool Menu
05. හැඩතල මෙනුව Shape Menu
06. වර්ණ තීරුව Color Palette
07. වැඩ පත Work Sheet

## 'Paint' මෙනුව මත 'Click' කිරීම



New - නව පිටුවක් ලබා ගැනීම
Open - පෙර සකසන ලද චිත්‍රයක් ලබා ගැනීම
Save - අඳින ලද චිත්‍රය සුරැකීම

## 'Home' මෙනුව මත 'Click' කිරීම




Cut - තෝරා ගන්නා ලද කොටසක් කපා ඉවත් කිරීම
Copy - තෝරාගත් කොටසක් පිටපත් කර ගැනීම
Paste - ඉහත ඉවත් කළ හෝ පිටපත් කළ කොටස් නැවත අවශ්‍ය තැනක ඇලවීම

## 'Image' මෙනුව මත 'Click' කිරීම




'Crop' - Cut, Copy වැනි ඕනෑ ම කාර්යයක් සඳහා රූපය තෝරා ගැනීම
'Resize' - තෝරාගත් කොටසේ ප්‍රමාණය විශාල කිරීම හෝ කුඩා කිරීම
'Rotate' - තෝරාගත් චිත්‍ර කොටස කැරකැවීම

## 'Tool' මෙනුව මත Click කිරීම




 නිදහස් අතින් ඇඳීම

ඇඳීමේ දී මූසිකයේ වම් පස බොත්තම Click කර හැසිරවිය යුතු යි

අඳින තුඩේ ප්‍රමාණය වෙනස් වීම සඳහා යතුරු පුවරුවේ Ctrl + + මගින් විශාල කිරීම හා Ctrl + - මගින් කුඩා කිරීම කළ හැකි ය

## 'Fill with Colour'



අඳින ලද චිත්‍රවලට වර්ණ යෙදීම

'Text' - චිත්‍රය මත අකුරු යතුරු ලියනය කිරිම සඳහා යොදා ගන්නා මෙම විධානය තේරූ විට අකුරු හැඩ ගැන්වීම සඳහා වූ මෙනුව එවිට තිරය මත පෙන්නුම් කරයි. අකුරුවල විලාසය, ප්‍රමාණය සහ හැඩය මෙන් ම වර්ණයේ තද සහ ලා බව වෙනස් කිරීමට හැකි වේ.



'Eraser'- අඳින ලද පින්තූරය මැකීම



එම ස්ථානය පසුබිම් වර්ණයෙන් නැවත වර්ණ ගැන්වීමට හැකි වේ. ප්‍රමාණය වෙනස් කිරීම Ctrl + + හෝ Ctrl + - මඟින් ද සිදු කළ හැකි ය.

## 'Brushes'




විවිධ වර්ණ සංයෝජන කිරීම

## 'Shapes' මෙනුව




- විවිධ හැඩතල ඇඳීම රේඛා වර්ගය (Outline) තේරීම සහ වර්ණය පිරවීම (Fill Color) සිදු කර ගත හැකි ය.

## 'Color Palette'




චිත්‍ර වර්ණ ගැන්වීම

මේ සඳහා අවශ්‍ය වර්ණ මෙම කොටු මත 'Click' කිරීමෙන් ලබා ගත හැකි අතර 'Color 1' හා 'Color 2' පිළිබඳ අවධානය යොමු කරන්න.

තව දුරටත් වර්ණ සකසා ගැනීම සඳහා'Edit Color' මත 'Click' කිරීමෙන් සිදු කර ගත හැකි ය.

නිර්මාණය කරන ලද රූපය පරිගණකයේ තැන්පත් කිරීම (Save) සඳහා පහත පියවර අනුගමනය කරන්න.

'Print → Save → File Name ______ (type) → Save → Enter'




මෙසේ පරිගණකයෙන් නිර්මාණය කරන ලද චිත්‍රයක් යම්කිසි රටාවකට 'Copy → Paste' කිරීම මගින් මෝස්තරයක් නිර්මාණය කර ගත හැකි ය.

**ක්‍රියාකාරකම 5.1**

ඇඳීමේ මෘදුකාංගයක් භාවිත කර විධිමත් හා අවිධිමත් හැඩතල මෝස්තරයක් හෝ සුභ පැතුම් පතක් නිර්මාණය කරන්න. එයට සුදුසු වර්ණ යොදා විචිත්‍රවත් කරන්න.

# හැඩතල සහ වර්ණ යොදා මෝස්තර ගොඩනගමු

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- විවිධ හැඩතල එක් කිරීමෙන් සරල මෝස්තර නිර්මාණය කිරීමට
- අවශ්‍යතාවට ගැළපෙන ලෙස සරල ඇඳුම් නිර්මාණය කිරීමට
- සරල ඇඳුම් නිර්මාණ මෝස්තර සඳහා හැඩතල හා වර්ණ යෙදීමට

හැකියාවක් ලැබෙනු ඇත.

මෝස්තර නිර්මාණය (Fashion Designing) ලෝකයේ ශීඝ්‍රයෙන් දියුණු වෙමින් පවතින තාක්ෂණික ක්ෂේත්‍රයකි.

සරල මෝස්තර නිර්මාණයේ දී හැඩතල විවිධ අයුරින් භාවිත කිරීම, වර්ණ ගැන්වීම, කඩදාසි මත නිර්මාණය කිරීම, විවිධ රූප හා කැටයම් එක් කිරීම සිදු කරයි.

## හැඩතල

විධිමත් හා අවිධිමත් හැඩතල රටාවකට සකසා මෝස්තර නිර්මාණය කර එයට වර්ණ යෙදීමෙන් ආකර්ෂණීය බව වැඩි කර ගත හැකි ය.



## කඩදසි නිර්මාණ

**ක්‍රියාකාරකම 5.2**

විවිධ හැඩතල ලැබෙන පරිදි කඩදාසි මගින් අපූර්ව නිර්මාණ කර ගත හැකි ය. එම නිර්මාණයේ ඇති හැඩතලවලට විවිධ වර්ණ යෙදීම මඟින් හැඩ ගැන්වීම සිදු කළ හැකි ය. පහත රූප සටහනේ දක්වෙන උපදෙස් අනුව ක්‍රියා කරමින් කඩදසි නිර්මාණ කිරීමට යොමු වන්න.



5.1 රූපය . කඩදාසි නිර්මාණ

ඉහත රූප සටහනේ පෙන්වා දී ඇති ආකාරයට අදළ පියවරේ දී කඩ රේඛා දිගේ දක්වා ඇති දෙසට නමා ගැනීමෙන් මෙම නිර්මාණය සකස් කර ගත හැකි ය.

## සරල මෝස්තර නිර්මාණය

සරල මෝස්තර නිර්මාණය සඳහා විවිධ හැඩතල වර්ණ ගැන්වීම හා කැටයම් බෙදීම කළ හැකි ය. මෝස්තර නිර්මාණයේ දී ඇඳුම් මෙන් ම භාවිත කරන මෙවලම් සඳහා එනම් හිස් වැසුම්, අත් බෑග්, ලේන්සු, මේස රෙදි, පුටු කවර, පොත් පිටකවර විචිත්‍රවත් කර ගත හැකි ය. මෙසේ මෝස්තර එක් කිරීමෙන් භාණ්ඩයක අලංකාරය වැඩි කර ගත හැකි ය.

### කැටයම්

විවිධ වූ හැඩ ඇති රටා ඇඳ එම රටාවට ඇතුළතින් තවත් කුඩා හැඩ රටා ඇඳ ඒවා කපා ගැනීමෙන් කැටයම් ලබා ගත හැකි ය.



5.2 රූපය . නිර්මාණ සඳහා භාවිත කළ හැකි කැටයම්

විවිධ රූප කඩදාසි නිර්මාණ මගින් මෝස්තරයේ අලංකාරය වැඩි දියුණු කර ගත හැකි ය.

**ක්‍රියාකාරකම 5.3**

ඔබ භාවිත කරන හිස් වැසුම, ලේන්සුව, පැන්සල, පොත් බෑගය, මෝස්තර යොදා අලංකාර කරන්න.

### සරල ඇඳුම් නිර්මාණය

ඔබ භාවිත කරන ඇඳුම් සඳහා සරල මෝස්තරයක් හෝ හැඩතල එක් කිරීමෙන් එහි අලංකාරය වැඩි කර ගත හැකි ය.



5.3 රූපය . සරල මෝස්තර සහිත ඇඳුම්

මෝස්තර සඳහා උපයෝගි කරගනු ලබන රූප, රෙදි අලවන ගම් වර්ගයක් භාවිතයෙන් (Fabric glue) ඇඳුමට සම්බන්ධ කිරීම හෝ විසිතුරු මැහුම් ක්‍රම භාවිත කර මැසීම කළ හැකි ය.



5.4 රූපය . විසිතුරු මැහුම් ක්‍රම

එමෙන් ම එක ම හැඩතලයක් හෝ රටාවක් ස්ථාන කිහිපයකට ඇතුළත් කිරීම අවශ්‍ය වූ විට ඒ සඳහා ස්ටෙන්සිල් මුද්‍රණ ක්‍රමය භාවිත කරයි. ඇඳුම්, පෝස්ටර්, බැනර් ආදිය නිෂ්පාදනයේ දී මෙම ස්ටෙන්සිල් මුද්‍රණ ක්‍රමය බහුල ව යොදා ගනු ලබයි.



5.5 රූපය . ස්ටෙන්සිල් මුද්‍රණය

සරල රූපයක් ඉවතලන 'එක්ස් - රේ' කොළයක හෝ ඝන කඩදාසියක් මත ඇඳ එහි මුද්‍රණය විය යුතු කොටස් කැපුම් තලයක් ආධාරයෙන් සියුම් ව කපා ඉවත් කර ස්ටෙන්සිල් සකස් කර ගන්න. ස්ටෙන්සිලය අවශ්‍ය ස්ථානයේ තබා රෙදි පින්තාරු කිරීමේ තීන්ත (Fabric paint) ස්පොන්ච් කැබැල්ලක් මගින් කැපුම් සිදුරු තුළ තැවරීමෙන් අවශ්‍ය රූපය රෙද්ද මත මුද්‍රණය කරගත හැකි ය. තීන්ත ඉහිරීම වළක්වා ගැනීම සඳහා රෙදිපට යටට ඝන රෙද්දක් හෝ පොලිතින් කොළයක් යොදන්න.

**ක්‍රියාකාරකම 5.4**

පන්තිකාමර තුළ රඟ දක්වන ජවනිකා සඳහා සුදුසු සරල ඇඳුම් මෝස්තර හැඩතල කඩදාසි මත ඇඳ කපා නිර්මාණය කරන්න.

ඔබේ නිවාසයේ, ක්‍රීඩා කණ්ඩායමට සුදුසු ලාංඡනයක් ඇඳ එය ස්ටෙන්සිල් ක්‍රමයට ඇඳුමට මුද්‍රණය කරන්න.

# සරල වස්තුවල රූපීය පෙනුම අඳිමු

මෙම පරිච්ඡේදය අධ්‍යයනය කිරීමෙන් ඔබට,

- සරල වස්තුවල දළ රූප සටහන් ඇඳීමට
- විවිධ හැඩැති සරල වස්තුවල ද්විමාන පෙනුම ඇඳීමට
- සරල වස්තුවල ත්‍රිමාණ පෙනුම ඇඳීම සඳහා තිත් න්‍යාස කඩදාසිය යොදා ගැනීමට හැකිවනු ඇත.

වස්තුවක හැඩය සරල ව ඉදිරිපත් කරන රූපයක් එහි රූපීය පෙනුම ලෙස හඳුන්වයි.

### ද්විමාන පෙනුම

වස්තුවක් දෙස බැලීමේ දී එහි දිග සහ පළල පමණක් පෙනෙන්නේ නම් එය ද්විමාන පෙනුමකි. එහෙත් එහි දැක්විය හැකි මිනුම් දෙවර්ගයකි. ඒ දිග හා පළල පමණි.

උදා :- ලියුම් කවරය දිග හැරුණුවිට
ගිනි පෙට්ටියක් දිග හැරුණු විට

### ත්‍රිමාණ පෙනුම

වස්තුවක් දෙස බලන්නකුට එහි පැති තුන ම (දිග, පළල, උස/ ගැඹුර) එක වර දර්ශනය වන පරිදි අඳින ලද රූපයක් එම වස්තුවේ ත්‍රිමාණ පෙනුම ලෙස හඳුන්වයි. වචනයෙන් විස්තර කිරීමට අපහසු හැඩ පැහැදිලි ව දැක්වීම සඳහා ත්‍රිමාණ රූප භාවිත කරයි.

මෙසේ අඳින ලද වස්තුවල රූපීය පෙනුමට මිනුම් දැක්වීමේ දී ඒවා වස්තුවේ දිග, පළල, උස වශයෙන් මිනුම් අවස්ථා තුනකින් දැක්වේ.

විවිධ හැඩයේ ඇසුරුම් පෙට්ටි ගෙන දිග, පළල, උස පිළිබඳ ව අධ්‍යයනය කර එහි ඇලවුම් දාර ගලවා දිග අරින්න. එම ත්‍රිමාණ වස්තුව ද්විමාන තලයක් මත දිග හැරෙන ආකාරය ඔබට පැහැදිලි වේ. එය එම ඇසුරුමේ විකසන රූපය ලෙස දැක්විය හැකි ය. එය ද්විමාන රූපයකි.



5.6 රූපය . ත්‍රිමාණ රූපය



5.7 රූපය . ද්විමාන රූපය

මෙලෙස රේඛා දිගේ නවමින් ඇලවුම් දාර අලවා ගැනීම මගින් මෙවැනි ද්විමාන රූපයක් ත්‍රිමාණ වස්තුවක් බවට පත් කර ගත හැකි ය. මේ ආකාරයට සිත් ගන්නාසුලු ඇසුරුම් වර්ග නිර්මාණය කර ගත හැකි ය.



5.8 රූපය . ත්‍රිමාණ රූප

5.9 රූපයෙහි දැක්වෙන්නේ යම්කිසි ඝන වස්තුවක ත්‍රිමාණ රූපයකි.




5.9 රූපය . ත්‍රිමාණ රූපය

**ක්‍රියාකාරකම 5.5**

(i) . ඉහත 5.9 රූපයේ දැක්වෙන වස්තුවේ විකසනය කොටු රූල් කොළයක අඳින්න.

(ii). ප්‍රමාණයෙන් අසමාන කුඩා පෙට්ටි දෙකක් ගෙන එම් පෙට්ටි එක මත එක තබා විවිධ පැතිවලින් බලමින් එහි දළ රූපීය පෙනුම අඳින්න.

ත්‍රිමාණ රූප පහසුවෙන් ඇඳ ගැනීම සඳහා තිත් න්‍යාස (Dot Matrix) කඩදාසිය යොදා ගනියි. මෙම තිත් න්‍යාස කඩදාසියේ තිත් $30^0$ තිරසට ආනත ව දෙපසට විහිදෙන පරිදි සකසා ඇත. තිත් න්‍යාස කඩදාසියක් මත ත්‍රිමාණ රූප ඇඳ ඇති ආකාරය හොඳින් නිරීක්ෂණය කරන්න.



5.10 රූපය . තිත් න්‍යාස කඩදාසිය මත ත්‍රිමාණ රූප ඇඳීම

**ක්‍රියාකාරකම 5.6**

ඔබට ඡායා පිටපත් ගැනීමේ පහසුව ඇත්නම් මෙම තිත් න්‍යාස කඩදාසිය ඡායා පිටපත් කරගන්න. ඔබ කැමති ත්‍රිමාණ රූප කිහිපයක් මෙම තිත් න්‍යාස කඩදාසිය මත අඳින්න.

සෑම අවස්ථාවක දී ම ඊ තලයේ හිස ඉහළට සිටින පරිදි තිත් න්‍යාස කඩදාසිය භාවිත කරන්න.



5.10 රූපය . තිත් න්‍යාස කඩදාසිය

ප්‍රායෝගික හා තාක්ෂණික කුසලතා (සි) 6 செயன்முறைத் தொழினுட்பத் திறன்கள் 6

# ප්‍රායෝගික හා තාක්ෂණික කුසලතා



6 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## පෙළපොත් තේමා ගීතය

සිත් පුරා මල් පිපී
අලුත් පොත් සුවඳ දී
නෙත් පුරා රූ මැවූ
අපේ ලොව එළිය වී..//

පොත් පුරා දැනුම පිරි
පුංචි මුව සිනා රැලි
අලුත් ම පොත්වල එළිය
අලුත් වෙයි සැම දිනේ

පොත් අපේ නෙත් වගේ
නෙත් රකින විලසිනේ
දැනුම දෙන අපේ පොත්
රැකගනිමු සතුටිනේ ....

සිත් පුරා මල් පිපී..//

රචනය : සරත් කුමාර පෙරේරා
තනුව : මහේෂ් දෙනිපිටිය

ප්‍රායෝගික හා තාක්ෂණික කුසලතා (සි) - 6 ශ්‍රේණිය
2020/S/6/096/250,000

ISBN 978-955-25-0264-4
D01
1010047
PRACT: & TEC: SKILLS - GR 6 (S)
Rs. 160.00

# සිංහල වර්ණ මාලාව

| | | | | | |
|---|---|---|---|---|---|
| අ | ආ | ඇ | ඈ | ඉ | ඊ |
| උ | ඌ | ඍ | ඎ | ඏ | ඐ |
| එ | ඒ | ඓ | ඔ | ඕ | ඖ |
| (අ)ං | (අ)ඃ | | | | |
| ක | ඛ | ග | ඝ | ඞ | ඟ |
| ච | ඡ | ජ | ඣ | ඤ | ඦ |
| ට | ඨ | ඩ | ඪ | ණ | ඬ |
| ත | ථ | ද | ධ | න | ඳ |
| ප | ඵ | බ | භ | ම | ඹ |
| ය | ර | ල | ව | | |
| ශ | ෂ | ස | හ | ළ | ෆ |

## தமிழ் அரிச்சுவடி

| | அ | ஆ | இ | ஈ | உ | ஊ | எ | ஏ | ஐ | ஒ | ஓ | ஔ |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| க் | க | கா | கி | கீ | கு | கூ | கெ | கே | கை | கொ | கோ | கௌ |
| ங் | ங | ஙா | ஙி | ஙீ | ஙு | ஙூ | ஙெ | ஙே | ஙை | ஙொ | ஙோ | ஙௌ |
| ச் | ச | சா | சி | சீ | சு | சூ | செ | சே | சை | சொ | சோ | சௌ |
| ஞ் | ஞ | ஞா | ஞி | ஞீ | ஞு | ஞூ | ஞெ | ஞே | ஞை | ஞொ | ஞோ | ஞௌ |
| ட் | ட | டா | டி | டீ | டு | டூ | டெ | டே | டை | டொ | டோ | டௌ |
| ண் | ண | ணா | ணி | ணீ | ணு | ணூ | ணெ | ணே | ணை | ணொ | ணோ | ணௌ |
| த் | த | தா | தி | தீ | து | தூ | தெ | தே | தை | தொ | தோ | தௌ |
| ந் | ந | நா | நி | நீ | நு | நூ | நெ | நே | நை | நொ | நோ | நௌ |
| ப் | ப | பா | பி | பீ | பு | பூ | பெ | பே | பை | பொ | போ | பௌ |
| ம் | ம | மா | மி | மீ | மு | மூ | மெ | மே | மை | மொ | மோ | மௌ |
| ய் | ய | யா | யி | யீ | யு | யூ | யெ | யே | யை | யொ | யோ | யௌ |
| ர் | ர | ரா | ரி | ரீ | ரு | ரூ | ரெ | ரே | ரை | ரொ | ரோ | ரௌ |
| ல் | ல | லா | லி | லீ | லு | லூ | லெ | லே | லை | லொ | லோ | லௌ |
| வ் | வ | வா | வி | வீ | வு | வூ | வெ | வே | வை | வொ | வோ | வௌ |
| ழ் | ழ | ழா | ழி | ழீ | ழு | ழூ | ழெ | ழே | ழை | ழொ | ழோ | ழௌ |
| ள் | ள | ளா | ளி | ளீ | ளு | ளூ | ளெ | ளே | ளை | ளொ | ளோ | ளௌ |
| ற் | ற | றா | றி | றீ | று | றூ | றெ | றே | றை | றொ | றோ | றௌ |
| ன் | ன | னா | னி | னீ | னு | னூ | னெ | னே | னை | னொ | னோ | னௌ |

ஆய்த எழுத்து ஃ

අප රටේ දරු පරපුර වෙනුවෙන් රජයෙන් ඔබට ලැබුණු මේ පොත ලබන වසරේදීත් ඔබ සහෝදර, සහෝදරියනට ලබා දීමට හොඳින් පාවිච්චි කරන්න.

පාසලේ නම : .......................................................................................................

| | පොත ලබා ගත් ශිෂ්‍යයාගේ / ශිෂ්‍යාවගේ නම | ශ්‍රේණිය | ශ්‍රේණි භාර ගුරුතුමාගේ / ගුරුතුමියගේ අත්සන |
|---|---|---|---|
| **2020** | | | |
| **2021** | | | |
| **2022** | | | |
| **2023** | | | |